# ක්‍රිස්තියානි ධර්මය

## 5 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



පළමුවන මුද්‍රණය 2019
දෙවන මුද්‍රණය 2020



ISBN 978-955-25-0245-3

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව විසින්
මත්තෙගොඩ, වාසනාවත්ත පාර, අංක 90 දරන ස්ථානයෙහි පිහිටි
විශ්ව ග්‍රැෆික්ස් (පුද්ගලික) සමාගමෙහි
මුද්‍රණය කරවා ප්‍රකාශයට පත් කරන ලදි.

Published by : Educational Publications Department
Printed by : Vishwa Graphics (Pvt) Ltd.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

ගරු ජේ. ඒ. මිහිරි ද සිල්වා දේවගැතිතුමිය - ලේකම්, ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම,
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය,
බෞද්ධාලෝක මාවත, කොළඹ 07

කේ. ආර්. සේපාලිකා පෙරේරා - ගුරු වෘත්තිය, ක්‍රිස්තුරාජ ජාතික පාසල
තුඩැල්ල, ජාඇල

ගෞ. සී. ඩබ්. සී. බාල්රාජ් දේවගැතිතුමා - විදුහල්පති, ශාන්ත තෝමස් විදුහල,
බණ්ඩාරවෙල

**ලේඛක මණ්ඩලය**

එස්. පී. සී. ප්‍රනාන්දු - ගුරු වෘත්තිය, වෙස්ලි විද්‍යාලය,
කොළඹ 06

නිලුකා චාමිනී උඩුමුල්ල - ගුරු වෘත්තිය, කිංග්ස්වුඩ් විද්‍යාලය,
මහනුවර

මල්මි රශ්මිදා පීරිස් - ගුරු වෘත්තිය, වේල්ස් කුමරි විදුහල,
මොරටුව

එම්. පී. සෙල්වනිදි පෙරේරා - ගුරු වෘත්තිය, (විශ්‍රාමික)

ඩී. ග්ලොරි එබ්සිබා - ගුරු වෘත්තිය, ගම්පොළ හින්දු විද්‍යාලය,
ගම්පොළ

**භාෂා සංස්කාරක**

අයි. රංජිත් - අධ්‍යක්ෂ,
ශ්‍රී ලංකා ජාතික ග්‍රන්ථ සංවර්ධන මණ්ඩලය,
අධ්‍යාපන අමාත්‍යාංශය

**චිත්‍ර හා පිටකවරය**

කේ. ඒ. එස්. කළුබෝවිල - කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය,
හාපිටිගම,
මීරිගම

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

එල්. ඒ. සඳුනි තිලංකා පත්මසිරි - පරිගණක සහායක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංකය

# 1 දේව මැවිල්ල සුරැකීම හා සංරක්ෂණය

උත්පත්ති 1 : 26, 29 - 30, 2 : 19 - 20



දෙවි පියාණන් විසින් අපට දායාද කරන ලද මනහර දේව මැවිල්ල පිළිබඳව බොහෝ වැදගත් කරුණු ඔබ පෙර ශ්‍රේණිවල දී ඉගෙන ගත්තෙහි ය.

දෙවි පියාණන් වහන්සේ අහසත් පොළොවත් එහි පවතින සියල්ලත් මැවූ බව අපි දනිමු. දෙවියන් වහන්සේ මෙම පරිසරය සහ එහි සිටින සතුන් පාලනය කිරීමේ වගකීම තමන් වහන්සේගේ ස්වරූපය අනුව මවන ලද මනුෂ්‍යයාට පවරා දුන් සේක. ඒ පිළිබඳව ශුද්ධ බයිබලයේ මෙසේ සඳහන් වේ.

ඉන් පසු දෙවියන් වහන්සේ; "අපගේ ස්වරූපය අනුව, අපගේ සමානත්වය ලෙස මනුෂ්‍යයා මවමු. ඔහු මුහුදේ මසුන් ද ආකාශයේ පක්ෂීන් ද, ගවමහීෂයන් ද මුළු පොළෝ තලයෙහි සියලු වන මෘගයන් ද උරගයන් ද පාලනය කෙරේවා!" යි අණ කළ සේක.

(උත්පත්ති 1:26)

දෙවි පියාණන් වහන්සේ, මනුෂ්‍යයාට ඇති ඉමහත් ප්‍රේමය නිසා දේව මැවිල්ල ආරක්ෂා කිරීමත්, රැක බලා ගැනීමත් යන සුවිශේෂ වගකීම් හා භාරකාරත්වය මනුෂ්‍යයාට පවරා දුන් සේක. අප අවට පරිසරයේ සහ එහි සිටින සත්ත්වයින්ගේ නිර්මාතෘවරයා දෙවි පියාණන් වහන්සේ ය. එහෙත් එකී සෑම සත්ත්වයකුට ම නම් තැබීමේ කාර්යය උන්වහන්සේ පළමු මනුෂ්‍යයාට පැවරූ සේක.

සෑම ජීවියකුට ම ජීවය රැක ගැනීම සඳහා ආහාර අත්‍යවශ්‍ය දෙයකි. ලෝකය ආරම්භයේ දී දෙවියන් වහන්සේ අපට ආහාර පිණිස නියම කළ දේවල් ශුද්ධ බයිබලයේ මෙසේ සඳහන් වේ.

තව ද, උන්වහන්සේ, "මුළු පොළෝ තලයෙහි ධාන්‍ය දරන සියලු පැළෑටි ද, බීජ සහිත ඵල දරන සියලු ගස් ද නුඹලාගේ ආහාරය පිණිස වේවා! එහෙත්, පොළොවේ සියලු වන සතුන්ට ද අහසේ පක්ෂීන්ට ද උරගයන්ට ද සියලු ජීවමාන සතුන්ට ද ආහාර පිණිස නිල් පලා දෙමි"යි වදාළ සේක.

(උත්පත්ති 1:29-30)

මෙලෙස මනුෂ්‍යයාටත්, සතුන්ටත් ආහාර පිණිස උන්වහන්සේ ශාක වර්ග හා ධාන්‍ය වර්ග ලබා දුන් සේක.

දෙවියන් වහන්සේ විසින් මවන ලද පරිසරය සහ සත්ත්ව ලෝකය මගින් ජීවයේ පැවැත්ම සඳහා ප්‍රයෝජන රැසක් අපට ලැබේ. එහෙත් වර්තමානයේ දී මිනිසාගේ අයහපත් ක්‍රියා කලාපය නිසා අප අවට පරිසරය හා සත්ත්ව ලෝකය විනාශයට පත්වෙමින් පවතියි. එය ආරක්ෂා කිරීමට අපට කළ හැකි දෑ බොහෝ ය. ඒවායින් කිහිපයක් ලෙස;

- ★ කුණු කසළ පරිසරයට බැහැර නොකරමින් පරිසරය පිරිසිදුව තබා ගැනීම
- ★ ගස් වැල් කපා දමා විනාශ නොකර, වැඩි වර්ධනය කිරීම
- ★ ගංගා ඇළ-දොළ අපවිත්‍ර නොකිරීම
- ★ සතුන්ට හිංසා නොකිරීම

යනාදිය දැක්විය හැකි ය. පුංචි අප ද අපට හැකි සෑම අවස්ථාවක ම මැවිල්ල සුරැකීමට දායක විය යුතු ය.

**දෙවි පියාණන් වහන්සේ ප්‍රේමයෙන් අපට ලබා දුන් අසිරිමත් දේව මැවිල්ල ආරක්ෂා කරමු; වර්ධනය කරමු!**



**කටපාඩම් පදය**

ආකාශ පක්ෂීන් හා මුහුදු මසුන් ද සත් සමුදුර හැම සතුන් ද කෙරේ අධිපතිකම මිනිසා හට පවරා දුන් සේක.

(ගීතාවලිය 8:8)



**පැවරුම**

පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.

1. අසිරිමත් දේව මැවිල්ලේ නිර්මාතෘවරයාණෝ කවරහු ද?
2. දේව මැවිල්ලේ භාරකාරත්වය මගින් අපට පැවරුණු වගකීම් මොනවා ද?
3. ආරම්භයේ දී මනුෂ්‍යයාට ආහාර පිණිස දෙවිඳුන් නියම කළේ මොනවා ද?
4. දේව මැවිල්ල විනාශ වන අවස්ථා **තුනක්** ලියන්න.
5. දෙවි පියාණන් අපට ලබා දුන් දේව මැවිල්ල සුරැකීමට කිතුනු දරුවන් ලෙස අපට කළ හැකි දේවල් **පහක්** ලියන්න.

# 2 දේව මැවිල්ලේ මුදුන් මල්කඩ

උත්පත්ති 1 : 27 - 28



2.1 රූපය - දේව මැවිල්ලේ මුදුන් මල්කඩ

**ගුරුතුමිය :** ජේසු පිහිටයි දරුවනේ...! සුබ උදෑසනක් ඔබ සියලු දෙනාට ම...!

**සිසුන් :** ජේසු පිහිටයි... සුභ උදෑසනක් ගුරුතුමී!

**ගුරුතුමිය:** දරුවනේ, අද මම ඔයාලා සියලු දෙනාට ම ශුද්ධ බයිබලයේ උත්පත්ති 1:27 හා 28 පාඨ පිළිබඳව පැහැදිලි කිරීමක් කරන්නයි බලාපොරොත්තු වෙන්නේ. ශුද්ධ බයිබලයේ

උත්පත්ති 1:27 පළමු බයිබල් පාඨය කියවීමට මම ශලෝම්ට අවස්ථාව ලබා දෙනවා.

**ශලෝම් :** "දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව මිනිසා මැවූ සේක. දෙවියන් වහන්සේගේ ම ස්වරූපය අනුව ඔවුන් මවා වදාළ සේක. පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් ඔවුන් මැවූ සේක."
(උත්පත්ති 1:27)

**ගුරුතුමිය:** ස්තුතියි ශලෝම්... අද අප විසින් අසන ලද බයිබල් පාඨය සුවිශේෂී බයිබල් පාඨයක්... ඒ අනුව දේව මැවිල්ලේ මුදුන් මල්කඩ වන්නේ පුරුෂයා හා ස්ත්‍රියයි. දෙවිඳුන් ඔවුන්ට ලබා දුන් වටිනාකම පැහැදිලි කිරීමට මම ප්‍රදර්ශන පත්‍රිකාවක් සූදානම් කරගෙන පැමිණියා. අපි මේ ප්‍රදර්ශන පත්‍රිකාවට අවධානය යොමු කරමු.



මෙලෙස දෙවි පියාණන් වහන්සේ මැවූ නිර්මාණ අතර විස්මිත හා අසමසම නිර්මාණය වන්නේ පුරුෂයා හා ස්ත්‍රියයි. දෙවියන් වහන්සේ මනුෂ්‍යයාට වගකීම් රැසක් ලබා දෙනවා. එම වගකීම් මොනවා දැයි සොයා බැලීම සඳහා අපි, උත්පත්ති 1:28 බයිබල් පාඨය කියවා බලමු.

**ශලෝම් :** "දෙවියන් වහන්සේ ඔවුන්ට ආසිරි පතමින් නුඹලා දරු සම්පත් ලබා වැඩි වර්ධනය වී, පොළොව පුරා පැතිර එය යටත් කර ගන්න. මුහුදේ මසුන් කෙරෙහි ද අහසේ පක්ෂීන් කෙරෙහි ද බලය පවත්වන්නැ"යි ඔවුන්ට වදාළ සේක. (උත්පත්ති 1:28)

**ගුරුතුමිය:** ස්තුතියි ශලෝම්...! දෙවියන් වහන්සේ තමන් වහන්සේ විසින් නිර්මාණය කරන ලද උතුම් ම මැවිල්ල වන පුරුෂයාට හා ස්ත්‍රියට ආශීර්වාද කර ප්‍රධාන වගකීම් තුනක් ඔවුන්ට පවරනවා. එම වගකීම් ලියූ පුවරු තුන ප්‍රදර්ශනය කිරීමට ස්නේහාත්, තිළිණත්, නයෝමිත් සූදානමින් සිටිනවා.



මනුෂ්‍යයාට ඇති ඉමහත් ප්‍රේමය නිසා මෙලොව භාරකාරත්වය ලබා දුන් දෙවි පියාණන් වහන්සේ අපට පවරා තිබෙන මෙම වගකීම් නිසි ලෙස ඉටුකිරීම අපගේ යුතුකමක් වෙනවා.

එකිනෙකාට වෙන් වෙන් වශයෙන් දෙවිඳුන් ලබා දුන් ස්ත්‍රී - පුරුෂ බව තුළ යහපත් කිතුනු ජීවිතයක් ගත කිරීම දෙවිඳුන් අපගෙන් බලාපොරොත්තු වෙනවා. මෙම වගකීම් නිසි ලෙස ඉටු කිරීමට අපට අවශ්‍ය කරන දේව මඟපෙන්වීම ඉල්ලා අපි යාච්ඤා කරමු. ජේසු පිහිටයි දරුවනේ.

**සිසුන් :** ජේසු පිහිටයි ගුරුතුමී.

**මම දෙවිඳුන්ට වටිනා ගැහැනු දරුවෙක් වෙමි!**
**මම දෙවිඳුන්ට වටිනා පිරිමි දරුවෙක් වෙමි!**
**අපි දෙවි පියාණන් වහන්සේ පැවරූ වගකීම් නිසි ලෙස ඉටු කරමු!**



**යාච්ඤාව**

ආදරණීය දෙවි පියාණෙනි,
මනුෂ්‍යයාට ඔබ වහන්සේ මෙතරම් ආදරය කරන නිසා සහ දේව මැවිල්ල රැක බලා ගැනීමට භාර දුන් නිසා ස්තුතියි. පියාණෙනි, දේව මැවිල්ලේ භාරකාරත්වයේ වගකීම් නිසි ලෙස ඉටු කිරීමට අපට පිහිට වුව මැනව.

ආමෙන්.



පැවරුම

(1) පහත සඳහන් ප්‍රකාශන හරි නම් (√) ලකුණ ද වැරදි නම් (×) ලකුණ ද ඉදිරියේ ඇති හිස් කොටුව තුළ යොදන්න.

| | | |
|---|---|---|
| i | දේව මැවිල්ලේ මුදුන් මල්කඩ මිනිසා ය. | ☐ |
| ii | දෙවි පියාණන් වහන්සේ මැවිල්ලේ භාරකාරත්වය මිනිසාට පැවරූ සේක. | ☐ |
| iii | දේව මැවිල්ල විනාශ කරමින් වැඩි වර්ධනය කළ යුතු ය. | ☐ |
| iv | සතුන් කෙරෙහි බලය දෙවි පියාණන් මිනිසාට පැවරුවේ නැත. | ☐ |
| v | මම දෙවිඳුන්ට වටිනා දරුවෙක් වෙමි. | ☐ |

(2) පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.

1. දෙවියන් වහන්සේ මනුෂ්‍යයාට දේව මැවිල්ල භාර දී පැවරූ වගකීම් **තුන** ලියන්න.
2. දෙවියන් වහන්සේ ඔබට ලබා දුන් අනර්ඝ ලෝකය ගැන තුති පුදමින් කෙටි යැදුමක් ලියන්න.

# 3 ජෝසෙප්

උත්පත්ති 41 : 33 - 49



3.1 රූපය - තරුණ වියේ ජෝසෙප්

ආදරණීය දරුවනි,

මම ජෝසෙප්. මගේ පියා ජාකොබ්. ඔහු මට බොහෝ සේ ආදරය කළා. එහෙත් මාගේ සහෝදරයන් මට ඊර්ෂ්‍යා කළ නිසා ඔවුන් මා මිසර දේශයට විකුණුවා. දෙවියන් වහන්සේ ආගන්තුක දේශයක දී මට රැකවරණය ලබා දුන්නා. මා කියන්නට සූදානම් වන්නේ එහි දී ලැබූ මගේ ජීවිතයේ පුදුම සහගත අත්දැකීම් පිළිබඳවයි.

එවකට මිසරය පාලනය කළ පාරාවෝ රජු සිහින දෙකක් දැක තිබුණා. එක් සිහිනයක් තමයි කෙසඟ එළදෙනුන් හත් දෙනකු විසින් තරබාරු එළදෙනුන් හත් දෙනකු කා දමනු ලැබීම. අනෙක් සිහිනය නම් නිසරු ගොයම් කරල් හතක් විසින් රන්වන් පැසුණු ගොයම් කරල් හතක් ගිල දමනු ලැබීම. මෙම සිහින දෙක පාරාවෝ රජුට තේරුම් කර දීමට කිසිවකු සමත් වූයේ නැ. ඒ නිසා මෙම සිහින තේරීමේ අවස්ථාව පාරාවෝ රජු මට ලබා දුන්නා. එම සිහිනවල තේරුම නම් මිසරයට මුලින් සශ්‍රීක අවුරුදු හතක් පැමිණෙන අතර ඉන් පසුව අවුරුදු හතක් පුරා එහි සාගතයක් ඇති වන බවයි.

සිහින තෝරා දීමෙන් පසු මම කදිම අදහසක් පාරාවෝ රජතුමාට ඉදිරිපත් කළා. එනම් දක්ෂ පුද්ගලයකු සොයා මිසර දේශයේ පාලනය ඔහුට පැවරිය යුතු බවත් තවත් නිලධාරීන් පත් කොට සශ්‍රීක අවුරුදු හත තුළ සියලු ආහාර වර්ග එකතු කර ගබඩා කළ යුතු බවත් මා පැවසුවා. එම ආහාර ආරක්ෂාකාරීව තබා ගැනීමෙන් සාගතය පවතින අවුරුදු හත තුළ රට විනාශ නොවී බේරා ගත හැකි බවත් මා කියා සිටියා. පාරාවෝ රජු මගේ යෝජනාවට එකඟ වුණා.



3.2 රූපය - **ජෝසෙප් දේශාධිපති තනතුර ලැබීම**

දෙවියන් වහන්සේ මට මේ සියලු කාරණා තේරුම් කර දීමට මඟ පෙන්වූවා. මා ඉදිරිපත් කළ යෝජනා පිළිබඳ සතුටට පත් වූ පාරාවෝ රජු මුළු මිසර දේශයේ ම දේශාධිපති බවට මා පත් කළා.

ඇත්තට ම මට මෙය පුදුම සහගත අත්දැකීමක්. දෙවියන් වහන්සේ මගේ ජීවිතය නොසිතූ ලෙස උසස් කළා. මිසරයට මා පැමිණියේ වහලකු ලෙස. එහි දී බොහෝ ප්‍රශ්නවලට හා ගැටලුවලට මුහුණ දීමට සිදුවුණත් දෙවියන් වහන්සේ ඒ සෑම අවස්ථාවක දී ම මා හට රැකවරණය ලබා දුන්නා.



3.3 රූපය - සාගත කාලය සඳහා ධනය රැස් කිරීම

සශ්‍රීක අවුරුදු හත තුළ සියලු ආහාර වර්ග රැස්කොට ගබඩා කරනු ලැබුවා. මුහුදේ වැලි මෙන් විශාල ප්‍රමාණයක් ධාන්‍ය රැස් කිරීමට අපට හැකි වුණා. ධාන්‍ය මැනීමට බැරි තරම් අධික වූ නිසා ඒවා මැනීම පවා නතර කළා. සැබැවින් ම මෙතරම් ආශීර්වාදයක් අපට ලබා දුන්නේ දෙවි පියාණන් වහන්සේයි. සාගත අවුරුදු හත තුළ පවා අපට කිසිදු හිඟයක් වුණේ නෑ. දෙවි පියාණන් වහන්සේට මම බොහෝ ස්තුතිවන්ත වෙනවා. උන්වහන්සේ මගේ ජීවිතයට පමණක් නොව මිසර දේශයේ ම ජනතාවටත් රැකවරණය ලබා දුන්නා.

දරුවනි, දෙවි පියාණන් වහන්සේ මගේ ජීවිතය දිනෙන් දින උසස් කළා, රැකවරණය ලබා දුන්නා. මගේ ම සහෝදරයන් ආගන්තුක දේශයකට මා විකුණුවත් උන්වහන්සේගේ අනර්ඝ සැලසුම තුළ මා උසස් තත්ත්වයකට පත් කළා. දෙවි පියාණන් වහන්සේ සැම විට ම මා සමග සිටියා. දෙවි පියාණන් ඔබටත් නිරතුරු රැකවරණය ලබා දෙනවා; ඔබ සැමට ජේසු පිහිටයි.

මීට,
ජෝසෙප්

**ජෝසෙප් මෙන් අපිත් නිරතුරු දෙවි පියාණන් වහන්සේගෙන් රැකවරණය ලබමු!**



**කටපාඩම් පදය**

හිමිතුමන් ගුණවත් බව ඔබ ම අත්දැකීමෙන් දැනගන්න; එතුමන්ගේ රැකවරණය ලබන තැනැත්තේ ආසිරි ලබයි.

(ගීතාවලිය 34 : 8)



**පැවරුම**

පහත සඳහන් හිස්තැන්වලට පිළිතුරු වරහන් තුළින් තෝරා ලියන්න.

(දේව රැකවරණය / හත / ජෝසෙප් / වහලකු / දේශාධිපති)

1. ජෝසෙප් මිසර දේශයට පැමිණියේ ................................ ලෙස ය.
2. පාරාවෝ රජතුමා දුටු සිහිනය .............................. විසින් තෝරා දෙනු ලැබිණි.
3. ජෝසෙප් මුළු මිසර දේශයේ ම ........................... බවට පත් කරනු ලැබිණි.
4. සාගතය පැවති අවුරුදු ............................ පුරා දෙවියන් වහන්සේ රැකවරණය ලබා දුන් සේක.
5. ජෝසෙප් මෙන් පුංචි අපිත් ............................... අත්දකිමු.

# 4 රතු මුහුදින් එතෙර වීම

**නික්මයාම 14 : 15 - 31**

මිසර දේශයේ වහලුන් ලෙස අවුරුදු ගණනාවක් බොහෝ පීඩාවලට ලක්වීමට ඊශ්‍රායෙල් ජනතාවට සිදු විය. ඔවුහු එම පීඩාවල දී දෙවියන් වහන්සේට යාච්ඤා කළෝ ය. ඊට පිළිතුරු ලෙස දෙවියන් වහන්සේ ඊශ්‍රායෙල් ජනතාව මිසරයේ වහල්කමින් මුදවා පොරොන්දු දේශය කරා ගෙන යාමට කටයුතු කළ සේක. මේ සඳහා නායකත්වය සැපයීමට දෙවියන් වහන්සේ මෝසෙස් තෝරා ගත් සේක. මෝසෙස්ගේ මැදිහත් වීමෙන් ඊශ්‍රායෙල් ජනතාවට මිසරයෙන් පිටවීමට පාරාවෝ රජු විසින් අවසර ලබා දෙන ලදි. එහෙත් ඔවුන් මිසර දේශයෙන් පිට වී ගිය පසු පාරාවෝ රජු නැවත එම තීරණය වෙනස් කර ගනිමින් ඊශ්‍රායෙල් සෙනඟ ලුහුබැඳ ගියේ ය.



ඊශ්‍රායෙල් ජනතාව රතු මුහුද අසලට පැමිණ ඉන් ඉදිරියට ගමන් කළ නොහැකිව දෙවියන් වහන්සේට මොරගැසූහ. එවිට පෙරමුණෙන් ගිය වලා ටැඹ ඔවුන් හා මිසරවරුන් අතරට පැමිණ එයින් ඔවුන්ට ආරක්ෂාව සැලසී ය. ඉන් පසු දෙවියන් වහන්සේ මෝසෙස්ට කතාකොට සැරයටිය මුහුද දෙසට දිගු කරන්නට අණ කළ සේක.




මෝසෙස් සැරයටිය මුහුද දෙසට දිගු කළ පසු මුහුද දෙබෑ විය.




ඊශ්‍රායෙල් සෙනඟ මුහුද මැදින් ගමන් කරන අතරතුර පාරාවෝ ද ඔහුගේ අශ්ව රථ හමුදාව ද ඊශ්‍රායෙල් සෙනඟ පසුපස ලුහුබඳිමින් මුහුද මැදට ගමන් කළෝ ය.




පාරාවෝ හා අසරුවන් මුහුද මැදට පැමිණෙනවාත් සමග ම දෙවියන් වහන්සේ මෝසෙස්ට නැවත සැරයටිය මුහුද දෙසට දිගු කරන්නට අණ කළ සේක. එවිට දෙබෑ වූ රතු මුහුදේ ජලය නැවත එකතු වී පාරාවෝගේ අසරුවෝ ද සියලු සේනාව ද ජලයට යට වූහ.

දෙවියන් වහන්සේ ප්‍රාතිහාර්යාත්මකව රතු මුහුද දෙබෑ කරමින් ඊශ්‍රායෙල් ජනතාව සුරක්ෂිතව ගෙන ගිය සේක.

**ඊශ්‍රායෙල් ජනතාව මෙන් අපිත් ප්‍රාතිහාර්යාත්මක දිව්‍ය රැකවරණය අත්දකිමු!**



යාච්ඤාව

ආදරණීය දෙවි පියාණෙනි, අපේ ජීවිතයේ පැමිණෙන පීඩාවල දී අපට රැකවරණය ලබා දී සුරක්ෂිතව ජීවත් වන්නට අපට මඟ පෙන්නුව මැනව.

ආමෙන්.



පැවරුම

1. දෙවියන් වහන්සේ මුහුද දෙබෑ කරමින් සිදු කළ ප්‍රාතිහාර්යාත්මක සිද්ධියෙන් ඔබ කැමැති අවස්ථාවක් චිත්‍රයට නඟන්න.
2. එදිනෙදා ජීවිතයේ දී පැමිණෙන පීඩාවල දී දෙවිඳුන්ගේ මඟපෙන්වීම, රැකවරණය ඉල්ලා කෙටි යාච්ඤාවක් ලියන්න.

# 5 දෙබෝරා

වීරාවලිය 4 : 4 - 8

දෙවි සමිඳුන් කලින් කලට - වීරවරුන් පත් කෙරුවා
ඊශ්‍රායෙල් ජනතාවට - ඔවුන් නිතර මඟපෙන්නුවා

ජාබින් නම් සතුරු රජෙක් - විසි වසරක් බලවත් විය
ඊශ්‍රායෙල් ජනතාවට - දුක් පීඩා ඇති කළේ ය

ජාබින්ගේ සේනාවේ - අධිපතියා සිසෙරා විය
නවසියයක් යකඩ රථ ද - හමුදාවක් ඔහු සතු විය

ඊශ්‍රායෙල් ජනතාව ම - දෙවි තුමන්ට මොරගැසුවා
මෙවැනි කලක දෙවිඳු තුමන් - දෙබෝරාව පත් කෙරුවා



5.1 රූපය - බාරක් හට උපදෙස් ලබා දෙන දෙබෝරා

වීරවරිය දෙබෝරා ද - කීකරු වී සමිඳුන් හට
ඉඳිගස යට සිට නිතර ම - ඔවදන් දුන්නා සැමට ම

දෙවිඳු තුමන් පැවසූ ලෙස - දෙබෝරා කටයුතු කළා ය
බාරාක් නම් තැනැත්තා හට - වගකීමක් පැවරුවා ය

තාබෝර් කන්දට ජනයා - දසදහසක් කැඳවීමට
දෙවි අණ ලෙස ඇය උපදෙස් - දුන්නා මේ බාරාක් හට

සටනේ දී දෙවි සමිඳුන් - සිටින බවට ධෛර්ය දුනි
සිසෙරාගේ හමුදාවෙන් - ජය දෙන බව පහදා දුනි

ඇය දුන් උපදෙස් සැම දෙන - ඒ ලෙසට ම ඉටු කෙරුවා
ඊශ්‍රායෙල් ජනයා හට - සමිඳුන් ජය ගෙන දුන්නා

ඊශ්‍රායෙල් ඉතිහාසයේ - එක ම වීරවරිය ලෙසට
දෙබෝරාට පුළුවන් වුණි - වටිනා මෙහෙයක් කරනට

**දෙබෝරා මෙන් දේව මඟපෙන්වීම ලබමු.**
**නිවැරදි නායකත්වය දරමු!**



**කටපාඩම් පදය**

සමහරු යුද රිය කෙරෙහි ද, ඔවුන්ගේ අශ්වයන් කෙරෙහි ද විශ්වාසය තබති. එහෙත් අපි නම් සමිඳාණන් කෙරෙහි විශ්වාසය තබමු.

(ගීතාවලිය 20 : 7)



පැවරුම

පහත සඳහන් ප්‍රහේලිකාව සම්පූර්ණ කරන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| | | | | 5 සි | |
| | 4 තා | | | | |
| 1 | | | | රා | |
| | ර් | | | | |
| | | | | 6 ඉ | |
| 2 | බි | | | | |
| | | | | | |
| 3 ද | | ද | | ස | |

හරහට

1. ඊශ්‍රායෙල් ජනතාව විනිශ්චය කළ වීරවරිය
2. ඊශ්‍රායෙල් ජනතාවට පීඩා කළ නපුරු රජෙකි.
3. බාරාක්ට කන්දට ගෙන යෑමට කියූ මිනිසුන් ගණන

පහළට

4. දෙබෝරා බාරාක්ට මිනිසුන් සමග යන්නට කියූ කන්ද
5. ජාබින් රජුගේ සේනාවේ අධිපතියා මොහු ය.
6. දෙබෝරා ජනතාව විනිශ්චය කළේ මෙම ගස යට ඉඳගෙන ය.

# 6 දොර්කස්

**ක්‍රියා 9 : 38 - 42**

ජොප්පාවෙහි දොර්කස් නම් කාන්තාවක් සිටියා ය. ඇය තබිතා නමින් ද හැඳින්වූවා ය. තබිතා බොහෝ යහපත් ක්‍රියා සිදු කළා ය. දන්දීමෙහි ද යෙදී සිටියා ය. දිනක් ඇය රෝගී වී මරණයට පත් වූවා ය. එහි සිටි පිරිස ඇය නාවා උඩුමහලක තැබුවෝ ය. මේ වන විට පේදුරු තුමා ජොප්පාවට ආසන්න ලිද්දාවෙහි සිටින බව ශ්‍රාවකයන්ට දැනගන්නට ලැබුණි. එහෙයින් පේදුරු තුමා කැඳවාගෙන පැමිණීමට මනුෂ්‍යයෝ දෙදෙනෙක් පිටත් වූහ.

**මනුෂ්‍යයන් දෙදෙනා :** පේදුරු..... පේදුරු.....
ජොප්පාවෙහි සිටි දොර්කස්ගේ අසනීපය වැඩි වී, ඇය මරණයට පත් වෙලා. හැකි ඉක්මනින් අප සමග එන්න.



6.1 රූපය - දොර්කස්ගේ අසනීපය පිළිබඳ පේදුරුතුමාට පැවසීම

**පේදුරු තුමා :** ම්.... හොඳයි අපි යමු.

(පේදුරු තුමා පැමිණි කල එතැන සිටි පිරිස පේදුරු තුමන් උඩුමහලට කැඳවාගෙන ගියෝ ය. බලවත් දුකින් එතැන සිටි වැන්දඹුවන් හඬමින්....)

වැන්දඹුවෝ: අනේ... දොර්කස් අපිත් සමග සිටිද්දී ඇය මහපු කමිස, කබා තමා මේ තියෙන්නේ.


6.2 රූපය - දෝර්කස් මසන ලද ඇඳුම් පේදුරුතුමාට පෙන්වීම

පේදුරු තුමා: ඔබ සියලු දෙනා මෙතැනින් ඉවත්ව පිටතින් සිටින්න.

එතැන සිටි සමූහයා : හොඳයි... අපි මෙතැනින් ඉවත්ව පිටතින් සිටින්නම්.


6.3 රූපය - පේදුරු තුමා දෝර්කස් අසලට ගොස් යාච්ඤා කිරීම

(පේදුරු තුමා දණින් හිඳ යාච්ඤා කළ පසු...)

පේදුරු තුමා: තබිතා... නැගිටින්න....

(එවිට මිය ගොස් සිටි ඇය ඇස් ඇර පේදුරු තුමා දැක හිඳ ගත්තා ය. පේදුරු තුමා ඇය අතින් අල්ලා නැඟිටුවේ ය. පේදුරු තුමා එතැන සිටි පිරිසට තබිතා භාර දුන්නේ ය.)



6.4 රූපය - සුවය ලැබූ දෝර්කස්

**එතැන සිටි සමූහයා** : හරි පුදුමයි... දොර්කස් මරණින් නැඟිටවලා.... දෙවියන් වහන්සේට ප්‍රශංසා වේවා.... පේදුරු තුමාගේ යාච්ඤාවට දෙවියන් වහන්සේ පිළිතුරු දුන්නා.

එදා,

පේදුරු තුමා ⟶ යාච්ඤා කළ විට ⟶ දෙවි පියාණෝ පිළිතුරු ලබා දුන්හ

අද,

කුඩා ඔබත් ⟶ යාච්ඤා කරන විට ⟶ දෙවි පියාණෝ පිළිතුරු ලබා දෙති

# පේදුරු තුමා මෙන් යාච්ඤා කරමු!
# පිළිතුරු ලබමු!



**යාච්ඤාව**

ආදරණීය දෙවි පියාණෙනි, පුංචි මමත් ඔබ වහන්සේට යාච්ඤා කරමි. ඔබ වහන්සේ මට කතා කළ මැනව: පිළිතුරු දුන මැනව: නිරතුරු ඔබ වහන්සේ මා සමග සිටිය මැනව.

ආමෙන්.



**පැවරුම**

"අ" කොටසට ගැළපෙන පිළිතුර "ආ" කොටසින් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| • දොර්කස් හඳුන්වන තවත් නමකි | • යාච්ඤා කිරීම |
| • දොර්කස් කළ යහපත් ක්‍රියාවකි | • ලිද්දාව |
| • දොර්කස් මැසූ ඇඳුම් පෙන්වමින් හැඬුවෝ | • තබිතා |
| • පේදුරු තුමා පැමිණ දොර්කස් වෙනුවෙන් සිදු කළේ | • දන්දීම |
| • ජොප්පාවට ආසන්න ගමකි | • වැන්දඹුවෝ |

# 7 දේව ආශීර්වාදයට ප්‍රතිචාර

1 සාමුවෙල් 1 : 21 - 28



7.1 රූපය - යාච්ඤාවේ නිරත හන්නා

හන්නා සහ එල්කානා දෙවිඳුන්ට ප්‍රේම කළ අය වූහ. අවුරුදු පතා ෂිලෝහි දී දෙවියන් වහන්සේට නමස්කාර කරන්නටත්, පුද පූජා පවත්වන්නටත් ඔවුහු පුරුදු වී සිටියහ. එහෙත් ඔවුන්ට දරුවකු නොසිටි බැවින් හන්නා බොහෝ දුක් වූවා ය. දෙවිඳුන් ඉදිරියේ ඇය මහත් ඕනෑකමින් යාච්ඤා ඉල්ලීම් පුද කළා ය.

දිනක් හන්නා ෂිලෝහි නමස්කාර ස්ථානයේ දී, ''සියලු බලැති සමිඳාණන් වහන්ස, ඔබේ මෙහෙකාරිය වන මගේ දුක දෙස හොඳින් බලා මා සිහිකර, මා අමතක නොකර, මට පිරිමි දරුවකු දෙන සේක් නම්, මම ඔහුගේ මුළු ජීවිත කාලය ම ඔබට කැප කරන්නෙමි,'' යනුවෙන් යාච්ඤා කළා ය. දෙවිඳුන් හන්නාගේ යාච්ඤාව ඇසූ සේක. කලක් ගත වූ පසු දෙවියන් වහන්සේ හන්නා හා එල්කානාට බිලිඳු පුතකු දුන් සේක. ඇය ඔහුට '' සාමුවෙල්'' යන නාමය තැබුවා ය. ''සාමුවෙල්" යන නමෙහි අර්ථය, ''සමිඳාණන් වහන්සේගෙන් ඉල්ලා ගත්'' යන්නයි.

හන්නා බිලිඳු දරුවා ඉතා ආදරයෙන් රැක බලා ගත්තා ය. දරුවා මවගෙන් කිරි බිවූ කාලය අවසන් විය. ඇය දෙවියන් වහන්සේට ෂිලෝහි දී කළ පොරොන්දුව ඉටු කිරීමට සූදානම් වූවා ය.



7.2 රූපය - සාමුවෙල් ඒලී පූජකයා වෙතට රැගෙන ඒම

ඔවුහු ෂිලෝහි පිහිටි දේව මාලිගාවට පැමිණ තමන් ගෙනා පූජා ද්‍රව්‍ය ඔප්පු කළහ. පසුව ඔවුහු සාමුවෙල්, ඒලී පූජකයා වෙත ගෙනාවෝ ය. හන්නා, ඒලී පූජකයාට මෙසේ පැවසුවා ය. ''මේ දරුවා දෙන ලෙස මම සමිඳාණන් වහන්සේට යාච්ඤා කළෙමි. සමිඳාණන් වහන්සේ ද මා උන්වහන්සේගෙන් ඉල්ලූ ඉල්ලීම මට ඉටු කළ සේක. එබැවින් මම ද ඔහු සමිඳාණන් වහන්සේට දෙන්නෙමි. ඔහු ජීවත්ව සිටින තෙක් සමිඳාණන් වහන්සේට කැප ය.''

දෙවියන් වහන්සේ හන්නාගේ යාච්ඤාවට පිළිතුරු ලබා දුන් සේක. හන්නා සහ එල්කානා දෙවියන් වහන්සේගෙන් ලැබූ ආශීර්වාදයට යහපත් ප්‍රතිචාර ලබා දුන්නෝ ය. ඔවුහු දෙවිඳුන්ට වූ පොරොන්දුව ඉෂ්ට කළෝ ය. හන්නා තමන් ලද එක ම පුත්‍රයා දේව සේවයට කැප කිරීමට තරම් ත්‍යාගශීලී වූවා ය. එමෙන් ම ඇය දෙවිඳුන්ට වූ පොරොන්දුව ද ඉෂ්ට කළා ය.

අපගේ ජීවිතවලටත් දෙවියන් වහන්සේ වටිනා ආශීර්වාද රැසක් ලබා දී තිබේ. හන්නා හා එල්කානා මෙන් අප ද දෙවිඳුන්ගෙන් ලැබූ ආශීර්වාදවලට යහපත් ප්‍රතිචාර දැක්විය යුතු ය.




**දෙවිඳුන්ගේ ආශීර්වාදය ලබා ගනිමු. යහපත් ප්‍රතිචාර දක්වමු!**

**කටපාඩම් පදය**

මක්නිසා ද දෙවියන් වහන්සේට නොකළ හැකි කිසිවක් නැත.

(ශු. ලූක් 1 : 37)

**පැවරුම**

පහත සඳහන් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු ලියන්න.

1. ''සාමුවෙල්'' යන නමේ අර්ථය කුමක් ද?
2. හන්නා සහ එල්කානා දෙවියන් වහන්සේට පූජා ඔප්පු කළේ කොහේ දී ද?
3. හන්නා, සාමුවෙල් භාරදුන්නේ කුමන පූජකයාට ද?
4. දෙවි පියාණන්ගෙන් ඔබ ලබන ආශීර්වාදවලට ඔබට දැක්විය හැකි ප්‍රතිචාර දෙකක් පාඩම ඇසුරෙන් ලියන්න.

# 8 දේව භඬට කීකරු වෙමු

ශු. ලූක් 1 : 6 - 7, 24 - 25, 57 - 68

එලිසබෙත් සහ සෙකරියස් මහලු වියේ සිටි දැහැමි යුවළකි. ඔවුහු දෙවියන් වහන්සේගේ ආඥා නිවැරදිව පිළිපදිමින් ජීවත් වූහ. එහෙත් එලිසබෙත්ට දරුවෙක් නොසිටියේ ය. සෙකරියස් පූජකයෙකි. දිනක් ඔහු දුම් පූජා කරමින් ශුද්ධස්ථානයේ සිටියේ ය. වයස්ගත වූ එලිසබෙත්ට දරුවකු ලැබෙන්නට යන බව ගාබ්‍රියෙල් දේවදූතයා විසින් සෙකරියස්ට ප්‍රකාශ කරන ලදි. ඔවුන් වයස්ගත වූ අය නිසා මෙම පුවත විශ්වාස කිරීමට සෙකරියස් තරමක් ප්‍රමාද විය. එහෙයින් දරුවාගේ උපත දක්වා සෙකරියස්ට කතා කළ නොහැකි විය. දරුවා ඇති දැඩි කළ යුතු ආකාරය ගැන දේවදූතයා සෙකරියස්ට උපදෙස් ලබා දුන්නේ ය. දේවදූතයා කී පරිදි එලිසබෙත්ට පුතකු ලැබිණ. ඒ ගැන ඇය දෙවිඳුන්ට ප්‍රශංසා කළා ය.

දරුවා ඉපදී අට වන දිනයේ දී ජුදෙව් චාරිත්‍ර අනුව චර්මඡේදන පිළිවෙත සිදු කරන දින එළඹුණේ ය.

**පළමු අසල්වැසියා** : දෙවියන් වහන්සේට ප්‍රශංසා වේවා! උන්වහන්සේ එලිසබෙත්ට පුතෙක් ලබා දුන්නා.. අනේ....හරි ම සතුටුයි!

**පළමු ඥාතියා** : ඔව් ඒක ඇත්ත.. දෙවියන් වහන්සේ ඇයට ගොඩක් ආදරෙයි. මෙපමණ කාලයක් ඇය දරුවකු නැතිව සිටියේ.. එහෙත් දෙවියන් වහන්සේ මහලු වයසේ දී පවා ඇයට දරුවකු ලබා දුන්නා.

**දෙවන අසල්වැසියා** : එලිසබෙත්, ඔය දරුවා රැගෙන එන්න... චර්මඡේදන පිළිවෙත ආරම්භ කරන්න අපි සූදානම් වෙමු.

(දරුවාට නමක් තැබීමට සියලු දෙනා සූදානම් වෙති)

දෙවන ඥාතියා : තාත්තාගේ නම සෙකරියස් නිසා අපි මේ දරුවාටත් ''සෙකරියස්'' කියලා නම තියමු.

අසල්වැසියෝ හා ඥාතියෝ : ඔව්... ඔව්.... ඒක හොඳයි.

එලිසබෙත් : හ්ම්... (එලිසබෙත් මඳක් කල්පනා කරමින්)
අපි සෙකරියස් කියලා නෙවෙයි''ජොහන් '' කියලා දරුවාට නම තියමු.

තුන්වන ඥාතියා : (අසල්වැසියන් හා ඥාතීන් එකිනෙකා වටපිට සිටින අය දෙස බලමින්, කතා කරමින්)
අපේ නෑදෑයන් අතරවත් "ජොහන්" කියලා නමක් නැහැනේ.

හතරවන ඥාතියා : හ්ම්... ඔව්... අපි බලමු මොකක් ද කියලා සෙකරියස් මේ දරුවට තියන්න කැමති නම?

සෙකරියස්ට සංඥා කරමින් නෑදෑයෝ දරුවාගේ නම පිළිබඳව අදහස විමසා සිටියෝ ය. සෙකරියස් සංඥා කර ලිවීමට හැකි ලෑල්ලක් ඉල්ලා ගත්තේ ය. එහි දරුවාගේ නම "**ජොහන්**" යැයි ලීවේ ය. නෑදෑයෝ සියලු දෙනා ද පුදුම වූහ. එවිට සෙකරියස්ට නැවත කතා කිරීමට හැකියාව ලැබුණි. එතැන සිටි සියලු දෙනා තව තවත් පුදුමයට පත් වූහ.



8.1 රූපය - සෙකරියස්, ජොහන් යන නාමය ගල් පුවරුවේ ලිවීම

**සෙකරියස්** : දෙවියන් වහන්සේට ස්තුතියි! නැවත මට කතා කරන්න හැකියාව ලැබුණා.

**අසල්වැසියෝ හා ඥාතියෝ** : ආහ්...! (සියල්ලන් පුදුමයට පත් වෙමින්...) දෙවියන් වහන්සේට ප්‍රශංසා වේවා... හරි ම පුදුමයි... දෙවි පියාණන් නැවත සෙකරියස්ට කතා කරන්නට පුළුවන්කම ලබා දුන්නා.

මහලු වයසේ දී වුවත් එලිසබෙත්ට දරුවෙක් ලැබුණේ ය. සෙකරියස් දරුවාට "ජොහන්" යැයි නම තබමින් දේව නියෝගයට කීකරු විය. සෙකරියස්ට නැවත කතා කිරීමට හැකියාව ලැබුණි. දේව ගරු බිය ඇතිව දෙවියන් වහන්සේට කීකරු වීම නිසා එලිසබෙත් හා සෙකරියස් තම ජීවිතවලට වටිනාකම් රාශියක් හිමි කර ගත්තෝ ය.

**දේව නියෝගවලට කීකරු වෙමු.**
**ජීවිතයට වටිනාකම් හිමි කර ගනිමු!**



යාච්ඤාව

ආදරණීය දෙවි පියාණෙනි, මගේ ජීවිතයට ලබා දී ඇති ආශීර්වාදවලට හා වටිනාකම්වලට ඔබ වහන්සේට ස්තුතියි. දේව නියෝගවලට කීකරු වීමටත්, යහපත් ජීවිතයක් ගත කිරීමටත් මට උපකාර කළ මැනව.

ආමෙන්.



පැවරුම

හිස්තැනට සුදුසු වචනය වරහන් තුළින් තෝරා ලියන්න.

(ජොහන් , මහලු , අට වන දින, ගාබ්‍රියෙල් දේවදූතයා , දේව ගරු බිය)

i. එලිසබෙත් හා සෙකරියස් ......................... යුවලකි.

ii. එලිසබෙත්ට දරුවකු ලැබෙන්නට යන සුබාරංචිය සෙකරියස්ට පැවසූවේ ............................ ය.

iii. දරුවකු ඉපදී ................................ චර්මඡේදන පිළිවෙත සිදු කරනු ලැබේ.

iv. සෙකරියස් තම දරුවාගේ නම ........................... යැයි ලෑල්ලේ ලිවුවේ ය.

v. එලිසබෙත් හා සෙකරියස් .............................. ඇතිව දෙවියන් වහන්සේට කීකරු වීම නිසා ජීවිතයට වටිනාකම් හිමිකර ගත්තෝ ය.

# 9 දේව සබඳතාව වර්ධනය කර ගනිමු

අප සැම දෙවි පියාණන් වහන්සේගේ දරුවෝ වෙමු. එම නිසා දෙවියන් වහන්සේ හා අප අතර නිරන්තර සම්බන්ධතාවක් පවත්වා ගත යුතු ය. දෙවියන් වහන්සේත් අපත් අතර සම්බන්ධතාව පවත්වා ගැනීමේ හොඳ ම ක්‍රමය යාච්ඤාවයි. දෙවියන් වහන්සේට ප්‍රසන්න යාච්ඤාවක් ඉදිරිපත් කරන ආකාරය මෙම පාඩමෙන් ඉගෙන ගනිමු.

යාච්ඤාවක් කරන සැම විට ම දෑත් එක්ව තබා, දෙ ඇස් පියා ගැනීමට කුඩා කාලයේ සිට ම දෙමාපියන් හා වැඩිහිටියන් අපට උගන්වා ඇත. හැකි අවස්ථාවල අපේ දෙදණ නමා දෙවියන් වහන්සේට නමස්කාර කරමින් උන්වහන්සේ ඉදිරියෙහි යටහත් වීම සුදුසු වේ. අප දෙවියන් වහන්සේට කතා කිරීමත් සමග ම උන්වහන්සේගේ හඬට සවන්දිය යුතු ය.

යාච්ඤාව අංග පහකින් යුක්ත ය. ඒවා නම්,



- ★ ප්‍රශංසාව
- ★ ස්තුති දීම
- ★ කමාව අයැදීම
- ★ අන්‍යයන් වෙනුවෙන් යැදීම
- ★ පෞද්ගලික යාච්ඤාව

**ප්‍රශංසාව - (ක්‍රියා 16:25)**

යාච්ඤාවක් ආරම්භ කළ යුත්තේ දෙවියන් වහන්සේට ප්‍රශංසා කිරීමෙනි. උන්වහන්සේ ප්‍රශංසාව මැද වැඩ සිටින සේක. ගීත ගායනා කරමින් ද උන්වහන්සේට ප්‍රශංසා කළ හැකි ය. ප්‍රශංසාව මඟින් දෙවියන් වහන්සේගේ ගුණ ගායනා කිරීම ද කළ හැකි ය.

ක්‍රියා 16:25 හි පාවුලු තුමා හා සීලස් සිරගතව සිටිය දීත් යාච්ඤා කරමින් ගී ගැයූ බව සඳහන් වේ.

**ස්තුති දීම - (කොලොස්සි 1:3)**

දෙවියන් වහන්සේට අප යාච්ඤා කරන විට ස්තුතිවන්ත සිතින් උන්වහන්සේට තුති පිදිය යුතු ය. මේ දක්වා උන්වහන්සේ අපට කර ඇති සියලු ක්‍රියා ගැන ද අපට ලබා දී තිබෙන සියලු ආශීර්වාද ගැන ද ස්තුති කරමු. විශේෂයෙන් දෙවියන් වහන්සේගේ එක ම පුත්‍රයාණන් වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ අප වෙනුවෙන් මේ ලෝකයට එවීම ගැන ද තුති දිය යුතු ය. උන්වහන්සේ අපගේ අවශ්‍යතා දන්නා සේක. උන්වහන්සේගෙන් අප ඉල්ලූ දේ ලැබුණ ද නොලැබුණ ද උන්වහන්සේ අපට දක්වන ආදරයට ස්තුති දෙමු.

**කමාව අයැදීම - (ගීතාවලිය 51:1-2)**

දිනපතා අප අතින් දැනුම්වත්ව හා නොදැනුම්වත්ව වැරදි සිදු වේ. මෙම වැරදි දෙවියන් වහන්සේට විරුද්ධවත් අපේ සහෝදර ජනතාවට විරුද්ධවත් සිදුවන වැරදි විය හැකි ය. මේ වැරදිවලට අප දෙවියන් වහන්සේ ඉදිරිපිට පසුතැවිලි වෙමින් කමාව ලබා ගත යුතුයි. එලෙස ම එම වැරදි නැවත නොකිරීමට ද අධිෂ්ඨාන කර ගත යුතුයි. දාවිත් ශ්‍රේෂ්ඨ රජ කෙනකු වුවත් ඔහු තම වරද පිළිගෙන පසුතැවිලි වී දෙවියන් වහන්සේගෙන් කමාව අයැද සිටි ආකාරය ගීතාවලිය 51:1-2 හි සඳහන් වේ.

**අන්‍යයන් වෙනුවෙන් යැදීම - (ක්‍රියා 13:3)**

අප කරන යාච්ඤාවේ දී අන්‍යයන් වෙනුවෙන් යාච්ඤා කිරීම ද ඉතා වැදගත් වේ. අපේ නෑදෑ හිතමිත්‍රාදීන්ගේ අවශ්‍යතා ගැන ද යාච්ඤා කළ යුතුයි. එලෙස ම අප නොදන්නා, වෙනත් දේශවල ජීවත් වන පීඩා විඳින්නන්, රෝගීන් සහ සියලු ආකාර අගහිඟකම් ඇති අය වෙනුවෙන් ද අප යාච්ඤා කළ යුතු වේ.

**පෞද්ගලික යාච්ඤාව - (ක්‍රියා 10:1-4)**

අවසානයට අපගේ අවශ්‍යතා ගැන දෙවියන් වහන්සේට කරුණු ඉදිරිපත් කළ යුතු ය. එදිනෙදා ජීවිතයේ දී මුහුණ දෙන ප්‍රශ්න, ගැටලු, අසනීප තත්ත්ව, පීඩාකාරී අවස්ථා සහ අවශ්‍යතා වෙනුවෙන් උන්වහන්සේට යාච්ඤා කළ යුතු ය.

දේව දරුවන් වන අපට අවශ්‍ය දේ දෙවියන් වහන්සේ සුදුසු ආකාරයෙන් ලබා දෙනු ඇත. කිතුනු දරුවකු ලෙස ජීවත් වීමේ දී යාච්ඤාව තම ජීවිතයේ අත්‍යවශ්‍ය කාරණයක් වේ. යාච්ඤාව තුළින් අපට දෙවියන් වහන්සේ සමග සම්බන්ධ විය හැකි ය.

**මම මගේ දෙවියන් වහන්සේට නොකඩවා යාච්ඤා කරමින් උන්වහන්සේ සමග දේව සබඳතාව පවත්වා ගනිමි!**

**කටපාඩම් පදය**

මට යාච්ඤා කරන්න. එවිට මම නුඹට පිළිතුරු දී නුඹ නොදන්නා, සැඟවී ඇති වැදගත් සත්‍යයන් නුඹට දන්වන්නෙමි.

(ජෙරමියා 33:3)

**පැවරුම**

(1) පහත රූප සටහන අභ්‍යාස පොතෙහි ඇඳ යාච්ඤාවක අඩංගු විය යුතු අංග නම් කරන්න.



(2) ඉහත සඳහන් කළ අංග ඇතුළත් වූ කුඩා යාච්ඤාවක් ලියන්න.

# 10 සුවය දෙන ජේසුස් වහන්සේ

ශු. ලූක් 6 : 6 - 11

අයියා : නංගී අද අපි සබත් පාසලේ දී ලස්සන පාඩමක් ඉගෙන ගත්තා.

නංගී : මොකක් ද ඒ ලස්සන පාඩම ?

අයියා : අපි අද සබත් පාසලේ දී ඉගෙන ගත්තේ ජේසුස් වහන්සේ සබත් දවසේ දී කළ විශේෂ ක්‍රියාවක් ගැන.

නංගී : ඒ මොකක් ද?

අයියා : ජේසුස් වහන්සේ ජීවත් වූ කාලයේ සෙනඟ සබත් දවසේ ධර්මශාලාවට ගියා; එහි ඉගැන්වීම්වලට සවන් දුන්නා.

නංගී : අපි අද දේවස්ථානයට ගිහින් දේව වචනයට හා දේශනාවලට සවන් දෙනවා වගේ නේද?

අයියා : ඔව්, දවසක් ජේසුස් වහන්සේ සබත් දිනයේ ධර්මශාලාවට ඇතුළු වී ඉගැන්වීම් කළා. දකුණු අත පණ නැති මිනිසෙක් එහි සිටියා.

නංගී : ජේසුස් වහන්සේ ඒ රෝගියා දුටුවේ නැද්ද?

අයියා : දුටුවා. ඒ වගේ ම හැම විට ම ජේසුස් වහන්සේගේ වරද සෙවූ පරිසිවරු හා විනයධරයනුත් එතැන සිටියා. ජේසුස් වහන්සේ ඒ රෝගියාට කුමක් කරනවා ද කියා ඔවුන් පරීක්ෂාවෙන් සිටියේ.

නංගී : ජේසුස් වහන්සේ ඒ රෝගියාට මොකක් ද කළේ?

අයියා : ජේසුස් වහන්සේ පරිසිවරුන්ගේ සහ විනයධරයන්ගේ සිතුවිලි දැන ගත්තා. ඒ නිසා ම, "නැඟිට මෙහි මැද සිටින්න," යැයි උන්වහන්සේ රෝගියාට පැවසුවා.

නංගී : ඊට පස්සේ..?

අයියා : ජේසුස් වහන්සේ රෝගියාට කිවුවා අත දිගු කරන්න කියා. රෝගියා එසේ කළා. එවිට ම ඔහුගේ අත සුව වුණා.



10.1 රූපය - ජේසුස් වහන්සේ, දකුණු අත පණ නැති රෝගියා සුව කිරීම

නංගී : හරි ම පුදුමයි නේද, ජේසුස් වහන්සේ රෝගියාට සුවය දුන්න ආකාරය?

අම්මා : හොඳයි පුතා, දුව, මම මුළුතැන්ගෙයි ඉඳන් ඔය දෙන්නාගේ කතාව ඔක්කොම අහගෙන හිටියේ. හොඳ ළමයි සබත් පාසලේ ඉගෙන ගන්නා දේවල් පවුලේ අය සමග, යහළුවන් සමග ඔය වගේ බෙදාගන්න ඕනේ.

තාත්තා : ඔව් දරුවනේ, ඒක ඉතා හොඳයි. එතකොට නොදන්න අය දැනගන්නවා. අපි වගේ දැන සිටි අයටත් නැවත මතක් වෙනවා.

අම්මා : ජේසුස් වහන්සේ මේ ලෝකයේ ජීවත් වූ කාලයේ දී තවත් බොහෝ රෝගීන් සුව කළා. උන්වහන්සේ අදත් අප අතර ඉන්න බොහෝ රෝගීන්ට සුවය දෙනවා.

අයියා : ඇයි අපේ පන්තියේ ඉන්න මලිඳුට සුවය ලැබුණේ.

නංගී : ඒ විතරක් ද අපේ සජීවනී නැන්දාට සුවය ලැබුණේ.

තාත්තා : ඉතා ම නිවැරදියි දරුවනේ. ජේසුස් වහන්සේ අදත් අප අතර ඉන්න රෝගීන්ට සුවය දෙනවා. අවශ්‍ය වන්නේ එතුමා අපේ රෝගවලට සුවය දෙන බව විශ්වාස කරමින් ඇදහීමයි.

අම්මා : ඒක හරි. එහෙනම් මම දවල් ආහාර මේසයට ගේන්න ද?

තාත්තා : ඉන්න මමත් එන්නම් උදව්වට.

අයියා හා නංගී : අපි මේසය සූදානම් කරලා යාච්ඤාවට ලෑස්ති වෙලා ඉන්නම්.

**ජේසුස් වහන්සේට මගේ සියලු රෝග ද සුව කළ හැකියි!**



යාච්ඤාව

ආදරණීය ජේසුස් වහන්ස, ඔබ වහන්සේ මේ ලෝකයේ ජීවත් වූ කාලයේ රෝගීන් සුවපත් කළා සේ ම අදත් අපේ රෝගවලට සුවය දානය කළ මැනව.

ආමෙන්.



පැවරුම

1. ජේසුස් වහන්සේ ඔබට හෝ ඔබ දන්නා අයකුගේ යම් රෝගයකට සුවය දුන් ආකාරය විස්තර කරමින් මිතුරකුට ලිපියක් ලියන්න.

2. ජේසුස් වහන්සේ රෝගීන් සුව කළ අවස්ථා දෙකක් පිළිබඳ ශුද්ධ බයිබලයේ සඳහන් තොරතුරු ඇතුළත් කර කුඩා පොත් පිංචක් සාදන්න.

# 11 ජේසුස් වහන්සේ පව්කරුවන් පිළිගනිති

ශු. ලූක් 7 : 36 - 50



11.1 රූපය - සීමොන්ගේ නිවසට ජේසුස් වහන්සේ පැමිණීම

දිනක් ජේසුස් වහන්සේ සීමොන් නම් පරිසියාගෙන් ලද ආරාධනාවකට අනුව ආහාර ගැනීම පිණිස ඔහුගේ නිවසට වැඩිය සේක.

ඒ නුවර සිටි පව්කාර ස්ත්‍රියක් ජේසුස් වහන්සේ වැඩහුන් බව දැන සුවඳ විලෙවුන් පිරුණු කිරිගරුඬ කරඬුවක් රැගෙන එතැනට ආවා ය.



11.2 රූපය - ජේසුස් වහන්සේ හමුවට පව්කාර ස්ත්‍රියක් පැමිණීම



11.3 රූපය - ජේසුස් වහන්සේගේ පාද හිසකේවලින් පිස දැමීම

ඈය උන්වහන්සේ පාමුල සිට උන්වහන්සේගේ පාද කඳුළෙන් තෙමෙන්නට හැර හිසකේවලින් පිස දමා සුවඳ විලේපනයෙන් ආලේප කළා ය. මේ අතර සීමොන් නම් පරිසියා, "මොහු දිව්‍යසිවරයෙක් නම් තමාගේ ඇඟට අත තබන මේ පව්කාර ස්ත්‍රිය කවර තැනැත්තියක් ද" කියා දැන ගනු ඇතැයි සිතී ය.



11.4 රූපය - ජේසුස් වහන්සේ සීමොන්ට කතා කිරීම

එවිට ජේසුස් වහන්සේ සීමොන්ට කතා කොට මෙසේ පැවසී ය. "මුදල් ණයට දෙන එක්තරා මිනිසකුට ණයකාරයන් දෙදෙනෙක් සිටියා. දෙදෙනා රිදී කාසි පන්සියයක් සහ පන්දහසක් වශයෙන් ණය වී සිටියා. ණය ගෙවීමට ඔවුනට හැකිකමක් නොතිබූ නිසා ණය හිමියා ඔවුන්ට කමා කළා." මෙය පැවසීමෙන් පසු ණයකරුවන් දෙදෙනාගෙන් ණය හිමියාට වැඩියෙන් ප්‍රේම කළේ කවුදැයි උන්වහන්සේ සීමොන්ගෙන් ප්‍රශ්න කළා. "වැඩියෙන් කමාව ලැබූ තැනැත්තා" යැයි සීමොන් උත්තර දුන්නා.

නැවතත් ජේසුස් වහන්සේ සීමොන්ට කතාකොට මේ ස්ත්‍රිය ඔබට පෙනෙනවා නේද? මම ඔබේ ගෙදරට ඇතුළු වුණා. ඔබ මගේ පාද සේදීමට වතුර දුන්නේ නැහැ. එහෙත් මැ කඳුළෙන් පාද තෙමා හිසකේවලින් පිසදැමුවා. ඔබ මා සිපගත්තේ නෑ. එහෙත් මැ මාගේ පාද සිඹ ගත්තා. ඇගේ බොහෝ පව් ඇයට කමා කළ බව ඈ දක්වූ ප්‍රේමයෙන් පෙනෙන බව පැවසුවා.



11.5 රූපය - ස්ත්‍රිය පව්කමා කරගත් ආකාරය සීමොන්ට පැවසීම



11.6 රූපය - ජේසුස් වහන්සේ පව්කාර ස්ත්‍රිය සමග කතා කිරීම

ඔබේ පව් ඔබට කමා කරන ලදැයි ජේසුස් වහන්සේ ස්ත්‍රියට පැවසූ සේක. එවිට පව් කමාව දෙන මොහු කවරෙක් ද කියා උන්වහන්සේ සමග කෑමට සිටි අය තම තමන් අතර විමසූහ. ඔබේ ඇදහිල්ල ඔබට ගැලවීම ගෙන දුන්නේ ය. ශාන්ත සිතින් යන්නැයි උන්වහන්සේ ඒ ස්ත්‍රියට වදාළ සේක.

**ජේසුස් වහන්සේ මෙන් අපි ද සැම දෙනා එක සේ පිළිගනිමු!**



**කටපාඩම් පදය**

එවිට උන්වහන්සේ "ඔබේ පව් ඔබට කමා කරන ලදැ"යි ඇයට වදාළ සේක.

(ශු. ලූක් 7 : 48)



පැවරුම

වරහන් තුළ ඇති වචන යොදා හිස්තැන් සම්පූර්ණ කරන්න.

(දෙදෙනකු, පව්කාර, සුවඳ විලේපනයෙන්, ප්‍රේමයෙන්, සීමොන්, කඳුළෙන්)

i ජේසුස් වහන්සේ පැමිණියේ ............................... නම් පරිසියාගේ ගෙදරට ය.

ii සුවඳ පිරුණු කිරිගරුඬ කරඬුවක් රැගෙන පැමිණියේ ............................... ස්ත්‍රියකි.

iii එම ස්ත්‍රිය ජේසුස් වහන්සේගේ පාද ......................................... තෙමා .............................. ආලේප කළා ය.

iv මුදල් ණයට දෙන එක්තරා තැනැත්තකුට ණයකරුවෝ ............................ සිටියෝ ය.

v ඇය දක්වූ ........................... ඇයගේ බොහෝ පව් කමා කරන ලදි.

# 12 සතුරන් කෙරෙහි මෙත් සිත් වඩමු

ශු. ලූක් 22 : 47 - 53

ගුරුතුමිය : අද අපි ජේසුස් වහන්සේගේ කුරුසි පූජාවට පෙර උන්වහන්සේ සතුරන් අතට පාවා දුන් අවස්ථාව රඟ දක්වන්නයි සූදානම.

(ගුරුතුමිය සිසුන් අතර චරිත බෙදා දී සිසුන්ට රඟපෑමට අවස්ථාව සලසයි)

රඟදැක්ම

ජේසුස් වහන්සේ යාච්ඤා කරමින් සිට නැඟිටමින් ගෝලයන්ට යමක් පවසති.

ජූදස් ඉස්කාරියොත් මූලිකත්වය ගෙන සමූහයක් පිරිවරාගෙන පෙරටුවෙන් ජේසුස් වහන්සේ ඉදිරියට පැමිණෙයි.

ජූදස් ජේසුස් වහන්සේගේ මුහුණ සිඹීමට සැරසෙත් ම ජේසුස් වහන්සේ ජූදස් දෙස බලා,

ජේසුස් වහන්සේ : ජූදස්, ඔබ සිඹීමකින් මනුෂ්‍ය පුත්‍රයාණන් පාවා දෙන්නෙහි ද?

(කෝපයට පත් එක් ගෝලයෙක් ජූදස් සමග සිටි එක් අයකුට ගසා ඔහුගේ දකුණු කන කපා දමයි)

ජේසුස් වහන්සේ : නවතින්න.

(ජේසුස් වහන්සේ ඔහුගේ කන අත ගා සුව කරයි)

ජේසුස් වහන්සේ : ඔබ සොරකු හා සටනට මෙන් ආයුධ රැගෙන ආවහු ද? දිනපතා මා දේව මාලිගාවෙහි ඔබ හා සමග සිටිය දී ඔබ මට විරුද්ධව අත එසෙව්වේ නැත. එහෙත් මෙය ඔබගේ අවස්ථාව ය. අන්ධකාරය රජ කරන මොහොත ය.

(ජූදස් ඉස්කාරියොත් සමග පැමිණි පිරිස ජේසුස් වහන්සේ අල්ලාගෙන පසෙකට ඇදගෙන යති. ජේසුස් වහන්සේගේ ගෝලයෝ බිය වී කිසිවක් කර කියා ගත නොහැකිව බලා සිටිති)

(භූමිකා රංගනය අවසන් වෙයි)

ජේසුස් වහන්සේ තමන්ට සතුරුකම් පෑමට පැමිණි පිරිස කෙරෙහි සතුරුකම් පෑමට අකැමැති වූ සේක. තම ගෝල පිරිසෙන් කෙනෙකු සතුරන් අතරින් කෙනෙකුට පහර දෙත් ම උන්වහන්සේ ඔහු කෙරෙහි කරුණාව පෑ සේක. ඔහුගේ කන අතගා සුව කළ සේක. සතුරන් කෙරෙහි මෙත් සිත් පා ඔහුට සුවය දීමට තරම් ප්‍රේමය දැක්වූ සේක. ජේසුස් වහන්සේ අනුගමනය කරන අප ද අපට සතුරුකම් කරන්නන් කෙරෙහි ප්‍රේමයෙන් ක්‍රියා කිරීම උන්වහන්සේගේ කැමැත්ත වේ.

**සතුරන්ට ප්‍රේම කළ ජේසුස් වහන්සේ අනුගමනය කරමින් අපි ද සතුරුකම් කරන අයට ප්‍රේමයෙන් ක්‍රියා කරමු!**



යාච්ඤාව

ආදරණීය ජේසුස් වහන්ස, අප සමාජයේ කටයුතු කරන අවස්ථාවල දී අපට විරුද්ධව ක්‍රියා කරන්නන් කෙරෙහි ඉවසිලිමත්ව, ප්‍රේමයෙන් කටයුතු කිරීම පිණිස ඔබ වහන්සේගේ පිහිට ලබා දුන මැනව.

ආමෙන්.



පැවරුම

(1) ඔබ ඉගෙන ගත් පාඩම ඇසුරෙන් පහත දැක්වෙන රූප රාමුවලට අදාළ සිද්ධිය ඔබේ වචනයෙන් ලියන්න.

1 

..............................................
..............................................
..............................................

2 

..............................................
..............................................
..............................................

3 

..............................................
..............................................
..............................................

(2) නිර්මාණශීලීව සකසන ලද පොත් පිංචක, එදිනෙදා ජීවිතයේ දී ඔබ අන් අයට සමාව දුන් අවස්ථා, පහක් අදාළ දිනය යොදා ලියන්න.

# 13 භේද නොසලකමු - සැවොම පිළිගනිමු

ශු. ජොහන් 4 : 7 - 10, 27, 29 - 30

ජේසුස් වහන්සේ විසූ කාලයේ ජුදෙව්වන් හා සමාරියයන් අතර සම්බන්ධතාවක් නොතිබුණි. ජුදෙව් සමාජයෙන් සමාරීය ජාතිකයන් කොන්කර තිබුණි.



13.1 රූපය - සමාරීය ස්ත්‍රිය සහ ජේසුස් වහන්සේ

ජේසුස් වහන්සේ දිනක් සමාරිය පසු කරමින් ගමන් ගත් සේක. සිකාර් නම් වූ නගරයේ දී ජේසුස් වහන්සේ ගමන් විඩාව නිවා ගැනීමට ළිඳක් ළඟ වාඩි වූ සේක. එවේලෙහි උන්වහන්සේගේ ශ්‍රාවකයෝ කෑම මිලට ගැනීමට නගරයට ගොස් සිටියෝ ය. එවිට සමාරීය ස්ත්‍රියක් වතුර අදිනු පිණිස එතැනට පැමිණියා ය.

ජේසුස් වහන්සේ ඇයගෙන් බීමට වතුර ටිකක් ඉල්ලූ සේක. ජුදෙව්වකු වූ ජේසුස් වහන්සේ සමාරියයකු වූ ඇයගෙන් වතුර ඉල්ලීම ගැන ඈ

විස්මයට පත් වූවා ය. ඒ ගැන ඇ ජේසුස් වහන්සේගෙන් විමසුවා ය. එවිට ජේසුස් වහන්සේ පිළිතුරු දෙමින්, වතුර ඉල්ලන තැනැත්තා කවරෙක් ද කියා ඔබ දන සිටියා නම් ඔබ ඔහුගෙන් ඉල්ලන බවත්, ඔහු ජීවන ජලය ඔබට දෙන බවත් පැවසූ සේක.

ඒ මොහොතේ දී ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයෝ එතැනට පැමිණියෝ ය. උන්වහන්සේ ස්ත්‍රියක සමග කතා කරනු දැක ඔවුහු මවිත වූහ. මන්ද සමාරිය ජාතිකයන් මෙන් ම කාන්තාවන් ද එකල සමාජයෙන් වැඩි සැලකිල්ලක් නොලැබූ පිරිසක් වූ හෙයිනි.

ජේසුස් වහන්සේ සමග කතා කළ ස්ත්‍රිය උන්වහන්සේ ගැන පුවත නගර පුරා ප්‍රකාශ කළා ය. තමා ගැන සියල්ල කියූ එතුමා ක්‍රිස්තුස් විය හැකි බව ද පැවසුවා ය. සෙනඟ නුවරින් නික්ම ජේසුස් වහන්සේ වෙත ආහ; මුණ ගැසෙන්නට පැමිණ උන්වහන්සේ හඳුනා ගත්හ. ජේසුස් වහන්සේ එදා සෙනඟ අතර තිබූ ජාති භේද නොතකා සැම දෙනා සමග එක ලෙස ක්‍රියා කළ බව මින් අපට පැහැදිලි වේ.



13.2 රූපය - සාමයෙන් හා සමගියෙන් යුත් ළමුන්

## අපිත් භේද නැතිව සැවොම පිළිගනිමු!

**කටපාඩම් පදය**

ඔබට හැකි පමණට හැම දෙනා සමග සාමකාමීව සිටීමට උත්සාහ කරන්න.

(රෝම 12 : 18)

**පැවරුම**

1. ජේසුස් වහන්සේ සහ සමාරීය ස්ත්‍රිය අතර වූ කතාබහ දෙබසක් ලෙස ලියා දක්වන්න.

# 14 අසීමිත කමාව

ශු. මතෙව් 18 : 21 - 35

ජේසුස් වහන්සේගේ ප්‍රධාන ගෝලයා වූ පේදුරු දිනක් එතුමා වෙත පැමිණ ප්‍රශ්නයක් ඇසුවේ ය. එනම් තමාට විරුද්ධව පව් කරන තම සහෝදරයාට තමා කී වාරයක් කමා විය යුතු ද යනුවෙනි. තව දුරටත් පේදුරු, "තම සහෝදරයාට කමා විය යුත්තේ සත්වාරයක් ද?" යනුවෙන් විමසී ය. ජේසුස් වහන්සේ ඔහුට පිළිතුරු දෙමින් "සත්වාරයක් නොව, සත්වාර සැත්තෑවකි" යනුවෙන් පිළිතුරු දුන් සේක. උන්වහන්සේ එයින් අදහස් කළේ අන් අයට කමාව දීමේ දී සීමාවක් රහිතව කමාව ලබා දිය යුතු බව ය.

ජේසුස් වහන්සේ තව දුරටත් කමාව දීම පිළිබඳව පැහැදිලි කිරීම සඳහා උපමා කතාවක් කී සේක. එම උපමා කතාව පහත දැක්වෙන කවි පෙළෙන් ඉදිරිපත් වේ.



14.1 රූපය - කමා නොවූ දාසයා රජු අසලට ගෙන ඒම

1 මිල කළ නොහැකි අගනා මුතු මැණික්          වැනි
ඉගෙනුම් කියුම් උපමා බයිබලයේ          ඇති
කමා වන්න හැම විට නොම වී          මසුරූ
ජේසුතුමන් පවසා දෙයි මේ          අයුරූ

2. රජෙක් වී ය සම්පත් නෙක ලත්          අනගී
හඬනා මිනිසකුව ඔහු වෙත ගෙනෙන          ලදී
රුපියල් කෝටි දෙකකට වැඩි ණය          සපිරී
කෙලෙසින් මෙණය ගෙවනෙම් දැයි ඔහු          නොදනී

3. ඔහු සතු සියලු දේ දරු පවුලත්          සමගින්
විකුණා ණය ගෙවන්නට දුනි අණ          රජිඳුන්
වැටෙමින් දණින්, හඬමින් රජු වෙත          තැවෙමින්
කල් ඉල්ලුවා, තම ණය ගෙවමියි          කියමින්

4. හඬනා මිනිසාගෙ දුක දුටු ඒ          රජිඳුන්
කමා වෙමින් අනුකම්පා හද          රඳමින්
මුළු ණය ගෙවීමෙන් නිදහස් කර          හරිමින්
පිටත් කළේ ඒ මිනිසා හද          සතුටින්

5. සතුටින් ඉපිලෙමින් මඟ යන මේ          මිනිසා
දුටුවේ තවත් මිනිසකු එයි මඟ          හරහා
රුපියල් දෙසීයක් ඔහු ඇත ණය          පෙරදා
ඇවැසියි මෙණය ඔහුගෙන් මට යයි          සිතුවා

6. කල් ඉල්ලුවත් ණය ගෙවමියි පසුව කියා
නොම දුන් කමා, හෝ කාලය මේ මිනිසා
අල්ලා හිර ගෙදර දමමින් දුක් දුන්නා
රජතුමාට මිනිසුන් මෙය සැළ කෙරුවා

7. කැඳවා විමසුවේ රජිඳුන් මේ මිනිසා
මා ඔබ වෙතට දුන් ඒ මහ කමා ගුණා
ඇයි ඔබ නොදුන්නේ ඒ සුළු ණයට කමා
දැමුවේ හිර ගෙදර රජිඳුන් මේ මිනිසා

8 ජේසු තුමන් අද අප හට පවසන්නේ
නිමක් නැතිව කමාව පිරිනමන ලෙසේ
දෙවිඳුන් අපට දුන් නිම් නැති කමා ගුණේ
ගමන් කරමු ලෝ හට එය ගෙන යමිනේ

**ජේසුස් වහන්සේ ඉගැන්වූ ලෙස අන් අයට අපි සීමා රහිතව කමා වෙමු!**



**යාච්ඤාව**

ආදරණීය ජේසුස් වහන්ස, මා අතින් සිදුවන වැරදිවලට කමාව දුන මැනව. එලෙස ම අන් අය අතින් අපට සිදුවන වැරදිවලට කමාව දෙන්නට අවශ්‍ය මඟ පෙන්වීම ලබා දුන මැනව.

ආමෙන්.



**පැවරුම**

පිළිතුරු සපයන්න.

1. ජේසුස් වහන්සේගෙන් පේදුරු තුමා ඇසූ ප්‍රශ්නය කුමක් ද?
2. එම ප්‍රශ්නයට ජේසුස් වහන්සේ දුන් පිළිතුර කුමක් ද?
3. කමාව දීම පිළිබඳ ජේසුස් වහන්සේගේ ඉගැන්වීම කෙටියෙන් විස්තර කරන්න.

# 15 දයාව දැක්වූ ජේසුතුමා

ශු. ලූක් 7 : 11 - 17

දිනක් ජේසුස් වහන්සේ නායින් නම් නුවරට වැඩිය සේක. උන්වහන්සේ සමග උන්වහන්සේගේ ශ්‍රාවකයෝ ද තවත් පිරිසක් ද සිටියහ. උන්වහන්සේ නායින් නුවර දොරටුවට ළඟාවත් ම, එතැන සිටි සෙනඟ මැරුණු තැනැත්තකුගේ සිරුරක් පිටතට රැගෙන එනු දුටු සේක. මැරුණු තැනැත්තාගේ මවට සිටියේ එම පුත්‍රයා පමණි. එම ස්ත්‍රියගේ ස්වාමිපුරුෂයා ද ජීවතුන් අතර සිටියේ නැත.



15.1 රූපය - නායින් නුවර වැන්දඹුවගේ පුතා මරණයෙන් නැඟිටුවීම

එම ස්ත්‍රියට සිටි එක ම පුත්‍රයා මළ බැවින් ඇ හඬමින් උන්නා ය. මහත් සෙනඟක් ඇ සනසමින් සිටියෝ ය. ජේසුස් වහන්සේ ඇයට හැඬීම නවත්වන්නට කී සේක. උන්වහන්සේ ඔහුගේ සිරුරට අත තබා,

"යෞවනය නැඟිටින්න", කියා පැවසූ සේක. එවිට ම මළ මිනිසා නැඟිට හිඳගෙන කතා කරන්නට පටන් ගත්තේ ය. උන්වහන්සේ ඔහුගේ මෑණියන්ට තරුණයා භාර දුන් සේක. ජේසුස් වහන්සේ තරුණයා මළවුන්ගෙන් නැඟිටුවා ඇය කෙරෙහි අනුකම්පා කොට දයාව දැක්වූ සේක.

මේ දුටු සෙනඟ මවිත වූහ. දෙවියන් වහන්සේ තම සෙනඟ ගලවන්නට වැඩිය බව පවසමින් උන්වහන්සේට ප්‍රශංසා කළහ.

**මවකගේ දුක හඳුනාගත් ජේසුස් වහන්සේ තුළ තිබූ දයාගුණය අපි ද පතුරවමු!**



**කටපාඩම් පදය**

දයාවන්තයෝ භාග්‍යවන්තයෝ ය. ඔවුහු දයාව ලබන්නෝ ය.

(ශු. මතෙව් 5 : 7)



**පැවරුම**

1. ජේසුස් වහන්සේ මළවුන්ගෙන් තරුණයකු නැඟිටුවූයේ කුමන නුවර දී ද?
2. එම නුවර දොරටුව අසලට පැමිණෙත් ම ඔවුන්ට දක්නට ලැබුණේ කුමක් ද?
3. ජේසුස් වහන්සේ කවරකු කෙරෙහි අනුකම්පාව හා දයාව දැක්වූ සේක් ද?
4. එතුමා දයාව දක්වා කුමක් කළේ ද?
5. ඉහත කතාවෙන් අපට උගත හැකි ආදර්ශයක් සඳහන් කරන්න.

# 16 ඉවසීමෙන් ක්‍රියා කරමු

**ශු. ලූක් 9 : 51 - 56**

ඉවසිලිවන්ත ය... කරුණාවන්ත ය...
ප්‍රේමයේ හැටි එය වේ
ක්‍රෝධය... මානය... වෛරය... නොමැති ද
ප්‍රේමය එතැන රැඳේ

ඉවසිලිවන්තකම යනුවෙන් සඳහන් වන්නේ, අප මීට පෙර ශ්‍රේණිවල උගත් ශුද්ධාත්ම ඵලයේ ගුණාංගවලින් එකකි. ජේසුස් වහන්සේ ඉවසීමෙන් කටයුතු කළ අවස්ථාවක් ගැන අද අපි සොයා බලමු.



16.1 රූපය - ජාකොබ් හා ජොහන්ගේ ඉල්ලීමට විරුද්ධ වන ජේසුස් වහන්සේ

දිනක් ජේසුස් වහන්සේ ජෙරුසලම බලා යාමට අදහස් කර තමාට පෙරටුව ගෝලයන් පිටත් කර යැවූ සේක. ඔවුහු උන්වහන්සේට අවශ්‍ය දේ පිළියෙල කිරීම පිණිස සමාරියයන්ගේ ගමකට ඇතුළු වූහ. එකල සමාරියයන් හා ජුදෙව්වන් අතර වැඩි සම්බන්ධතාවක් නොවී ය. ඔවුහු එකිනෙකා නොපිළිගත්හ.

ඒ නිසා එම ගමේ විසූ සමාරීය ජාතිකයෝ උන්වහන්සේ පිළිගැනීමට අකැමැති වූහ.

ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයන් වූ ජාකොබ් හා ජොහන් ඒ දැක ඉවසාගත නොහැකිව දැඩි කෝපයට පත් වූහ. ඔවුහු ඒ අවස්ථාවේ දී එම ගමේ සෙනඟ විනාශ කරනු පිණිස අහසින් ගිනි වැටෙන්නට අණ කරන්න දැයි ජේසුස් වහන්සේගෙන් කැමැත්ත විමසා බැලූහ. එහෙත් උන්වහන්සේ එයට ඉඩ නොදුන් සේක.

ජේසුස් වහන්සේ සමාරීය ජාතිකයන් කළ ක්‍රියාවට කෝප නොවී ඉවසීමෙන් යුතුව කටයුතු කළ සේක. තව ද උන්වහන්සේ ඉවසීම නැතිකම ගැන තම ගෝලයන්ට තරවටු කළ සේක.

අපට ද පාසලේ දී, නිවසේ දී හා සමාජයේ දී මෙවැනි කෝප ගැන්වෙන අවස්ථා ඇති වන්නට පුළුවන. එහෙත් එවැනි අවස්ථාවල ජේසුස් වහන්සේ තුළ තිබූ ඉවසීමේ ගුණය අප තුළ ද වර්ධනය කර ගැනීමට අප උත්සාහ කළ යුතු වේ. ඒ සඳහා දෙවි පියාණන් වහන්සේ යදිමින් අපට අවශ්‍ය පිහිට ලබා ගත යුතු ය.

**ජේසුස් වහන්සේ අනුගමනය කරන මම කෝප නොවී ඉවසීමෙන් කටයුතු කරන දරුවෙක් වෙමි!**



**යාච්ඤාව**

ආදරණීය ජේසුස් වහන්ස, ඔබ වහන්සේ මෙන් ඉවසීමෙන් කටයුතු කරන දරුවකු වීමට මට පිහිට වුව මැනව.

ආමෙන්.



**පැවරුම**

පහත සඳහන් අවස්ථාවල දී ඔබ දක්වන ප්‍රතිචාර ලියා දක්වන්න.

i අන් අය ඔබට බැණ වදින විට :

ii අන් අය ඔබට උසුළු විසුළු කරන විට :

iii අන් අය ඔබ සතු දේ පැහැර ගන්නා විට :

iv අන් අය ඔබ ක්‍රීඩා කිරීමට නොගෙන ප්‍රතික්ෂේප කරන විට :

v අන් අය ඔබ නොකළ වැරදි දෙයක් කළා යැයි පවසන විට :

# 17 ළදරුවන්ට ප්‍රේමය

ශු. මාක් 10 : 13 - 16

ජුදා සමාජයේ ළදරුවන් එතරම් පිළිගැනීමට ලක් නොවූ කාලයක ජේසුස් වහන්සේ ළදරුවන්ට ඉමහත් ප්‍රේමයක් දක්වූ සේක. එලෙස උන්වහන්සේ ළදරුවන් පිළිගත් අවස්ථාවක් පහත සිද්ධිය තුළින් විමසා බලමු.

දිනක් දෙමවුපියෝ තම ළදරුවන් පිට අත් තබා ආශීර්වාද කර ගන්නා පිණිස ජේසුස් වහන්සේ වෙත ගෙනාවෝ ය. එවිට,




ශ්‍රාවකයන් ළදරුවන් සමග පැමිණි දෙමවුපියන්ට තමන් වහන්සේ ළඟට ඒමට ඉඩ නොදුන් ආකාරය ජේසුස් වහන්සේ දුටු සේක. උන්වහන්සේ ශ්‍රාවකයන් කතා කළ අන්දම ගැන අමනාප වී ළදරුවන් තමන් වහන්සේ වෙතට කැඳවා මෙසේ පැවසූ සේක.

ළදරුවන්ට මා වෙතට එන්නට ඉඩහරින්න; ඔවුන් නොවළක්වන්න. දෙවියන් වහන්සේගේ රාජ්‍යය මෙබඳු අය සන්තක ය. සැබැවින් මම ඔබට කියමි. යම් කෙනකු දෙවියන් වහන්සේගේ රාජ්‍යය ළදරුවකු සේ නොපිළිගත්තොත් ඔහු කිසි සේත් එහි ඇතුළු නොවන්නේ ය.



ජේසුස් වහන්සේ තමන් කරා පැමිණි දරුවන් තුරුලු කරගෙන ඔවුන් මත අත් තබා ආශීර්වාද කළ සේක. මෙලෙස ජේසුස් වහන්සේ ළදරුවන්ට බොහෝ සේ ආදරය කළ සේක.

අද සමාජයේ දරුවන් ප්‍රතික්ෂේප කරන අවස්ථා හා දරුවන්ට හිරිහැර කරන අවස්ථා අපට අසන්නට ලැබේ. එහෙත් වර්තමානයේ දරුවන් සුරැකීමට "ළමා ප්‍රඥප්තිය" ක්‍රියාත්මක වේ. එමඟින් දරුවන් සුරැකීමට, ආදරයෙන් රැක බලා ගැනීමට කටයුතු කෙරේ. ජේසුස් වහන්සේ එදා දරුවන්ට දැක්වූ ආදරය, අද ද සමාජය තුළ පවතියි. මෙසේ ජේසුස් වහන්සේ දරුවන් වටිනා බවත්, සුරැකිය යුතු බවත් පෙන්වා දෙමින් දරුවන්ට ප්‍රේම කරමින් ඔවුන් ආදරයෙන් පිළිගත් සේක.

**ඔබ වටිනා කෙනකු බව දෙවි පියාණන් වහන්සේ දන්නා සේක.**
**උන්වහන්සේ ඔබට ආදරය කරන සේක!**



**කටපාඩම් පදය**

ළදරුවන්ට මා වෙතට එන්නට ඉඩහරින්න; ඔවුන් නොවළක්වන්න. දෙවියන් වහන්සේගේ රාජ්‍යය මෙබඳු අය සන්තක ය.

(ශු. මාක් 10 : 14)



**පැවරුම**

ජේසුස් වහන්සේ ඔබට ප්‍රේම කරන නිසා එයට ස්තුති කරමින් යාච්ඤාවක් ලියන්න.

# 18 ශුද්ධාත්මයාණන් වහන්සේ හඳුනා ගනිමු

ක්‍රියා 2: 1 - 4

ශුද්ධාත්ම ආගමනය

ජේසුස් වහන්සේ, උන්වහන්සේගේ ස්වර්ගාරෝහණයට පෙර තම ගෝලයන්ට පොරොන්දුවක් දුන් සේක. එනම් ශුද්ධාත්මයාණන් වහන්සේගේ පැමිණීමත් ඒ බලය හේතුකොට ගෙන සියල්ලන් ම බලවත් වී උන්වහන්සේ වෙනුවෙන් සාක්ෂි දරන බවත් ය. (ක්‍රියා 1 : 8)

ජේසුස් වහන්සේ ඔවුන්ට දුන් පොරොන්දුව අපේක්ෂාවෙන් එදා මුල් කිතුනු සභාව ජෙරුසලමේ උඩුමහලකට රැස්ව යාච්ඤා කරමින් සිටියහ. එදින ජුදෙව්වන්ගේ විශේෂ මංගල්‍ය දිනයක් විය. එනම් පෙන්තකොස්ත මංගල්‍යය හෙවත් අස්වනු මංගල්‍යයයි. මේ සඳහා විවිධ ප්‍රදේශවලින් පැමිණි ජුදෙව්වරුන්ගෙන් ජෙරුසලම් නගරය පිරී ගොස් තිබුණි.



18.1 රූපය - ශුද්ධාත්මයාණන් වැඩම කිරීම

පෙන්තකොස්ත දින ශුද්ධාත්මයාණන් වහන්සේ මුල් කිතුනු සභාව වෙත වැඩම කළ ආකාරය විමසා බලමු.

ක්‍රියා පොතේ 2:1-4 දක්වා අධ්‍යයනය කර ශුද්ධාත්ම ආගමනයට අදාළ පහත සඳහන් සිද්ධි අනුපිළිවෙළින් අංක කරන්න. (මෙම ක්‍රියාකාරකම අභ්‍යාස පොතේ සටහන් කරන්න)

| සිදුවීම | අංකය |
|---|---|
| ★ ගිනිදලු වැනි දිව් බෙදී ගොස් ඔවුන් එකිනෙකා මත පිහිටනු ඔවුන්ට පෙනුණි. | .................... |
| ★ තව ද පෙන්තකොස්ත දින පැමිණි කල ඔවුහු සියල්ලෝ එක් තැනක රැස්ව සිටියහ. | .................... |
| ★ ඔවුහු සියල්ලෝ ම ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වී ආත්මයාණන් ඔවුන්ට දුන් කතා ශක්තිය ලෙස අන්‍ය භාෂාවලින් කතා කරන්නට පටන් ගත්හ. | .................... |
| ★ එකල සැඬ සුළඟක් හමන්නාක් වැනි හඬක් හදිසියෙන් අහසින් නික්මුණේ ය. | .................... |
| ★ ඔවුන් හිඳ ගෙන සිටි ගෙය මුළුමනින් ම එයින් පිරී ගියේ ය. | .................... |

ඉහත සඳහන් අයුරින් ශුද්ධාත්මායණන්ගේ පැමිණීම මුල් කිතුනු සභාව විසින් අත්දකින ලදි.

ශුද්ධාත්ම බලය අත්දුටු මුල් කිතුනුවන්ගේ ජීවිත තුළ පහත ගුණාංග දක්නට ලැබුණි.




ජේසුස් වහන්සේගේ කුරුසිපත්වීමත් සමග මෙතෙක් බියව, සැඟව සිටි මුල් කිතුනු සභාව නොබියව ජනතාව ඉදිරියට ගොස් උන්වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරූහ. එම නිසා මෙම සිදුවීම කිතුනු සභාවේ උපත ලෙස හැඳින්වේ.

එසේ ම ඔබත් ශුද්ධාත්මයාණන්ගේ බලය තුළින් සවිමත් වී උන්වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීමට ඉදිරිපත් වන්න. ඒ සඳහා ඔබට සැම විට ම ශුද්ධාත්මයාණන් වහන්සේ මඟ පෙන්වනු ඇත.

**ශුද්ධාත්ම බලය අත්දකිමු; සාක්ෂි දරමු!**



**යාච්ඤාව**

**ආදරණීය දෙවි පියාණෙනි, ශුද්ධාත්මයාණන් වහන්සේ තුළ බලවත් වෙමින් ඔබ වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීමට අපට වරම් දුන මැනව.**

**ආමෙන්.**



පැවරුම

1. ශුද්ධාත්මයාණන් තුළින් මුල් කිතුනු සභාව ලැබූ අත්දැකීම් **දෙකක්** ලියන්න.
2. ශුද්ධාත්මයාණන් තුළින් සවිමත් වූ මුල් කිතුනුවන් තුළ දක්නට ලැබුණු විශේෂ ලක්ෂණ **තුනක්** ලියන්න.

# 19 මුල් කිතුනු සභාවේ බෙදා ගැනීම

ක්‍රියා 2 : 42 - 47

ඉරු දින දහම් පාසලේ පැවති විශේෂ දේශනයකට සහභාගි වූ සදෙව් සහ විශ්වි තම මව සමග තමා ඉගෙනගත් දේ බෙදා ගත් ආකාරය පහත දෙබස මගින් පෙන්වා දෙයි.

**මව :** පුතා අද ඉරුදින දහම් පාසලේ තිබුණ වැඩ සටහන කොහොම ද?

**සදෙව් :** අම්මේ, අද අපට කියලා දුන්නේ බෙදා ගැනීමේ වැදගත්කම ගැනයි. අපට කෙතරම් අගහිඟකම් තිබුණත් අපි ළඟ තිබෙන දේ බෙදා ගන්නේ කොහොම ද කියලා පෙන්වලා දුන්නා.

**විශ්වි :** අපට පෙන්නුවා හරි ම ලස්සන වීඩියෝ දර්ශනයක්.

**මව :** ඒ මොකක් ද?

**සදෙව් :** එක්තරා පිරිසිදු කරන ආයතනයක සේවය කරන තාත්තා කෙනෙක් හැම දා ම ආපනශාලාවක් පිරිසිදු කළා. ඒ ආපනශාලාවේ අයිතිකරු හැම දා ම ඒ තාත්තාට රාත්‍රි ආහාරය ද ආපනශාලාවේ ඉතිරි වන ආහාර සියල්ල ද රැගෙන යාමට දුන්නා. ඒ තාත්තා හරි ම සතුටින් ඒ කෑම ගෙදර අයත් එක්ක බෙදාගෙන කනවා අපිට පෙන්නුවා.

**විශ්වි :** ඒ විතරක් නෙමෙයි අම්මේ, ඒ තාත්තා එයාට ලැබුණු කෑම ගෙදර යන අතර මග දී එයාට හමු වන දුප්පත් පුංචි ළමයින්ටත් බෙදලා දුන්නා.

**සදෙව් :** ඒ වගේ ම, තමන්ට ලැබුණු ආහාර ගැන දෙවියන් වහන්සේට ස්තුති කරලා සතුටින් තමයි එයාලා රෑ කෑම කෑවේ.

**විශ්වි :** ඉතින් අම්මේ, දේවගැති තුමා අපට පැහැදිලි කළේ හැම කෙනකු ම තමන් ළඟ තියන දේ බෙදා ගන්න ඉදිරිපත් වෙන්න ඕනේ කියලා. බෙදා ගැනීමට අපේ අගහිඟකම් හේතුවක් නොවෙයි කියලා අපට ඉගැන්නුවා. අප සතු දේ බෙදා ගන්නවා නම් මේ ලෝකේ අගහිඟකම් කාටවත් ඇති වෙන්නේ නැහැ කියලා තමයි දේවගැති තුමා කීවේ.

**අම්මා :** ඒක නම් ඇත්ත තමයි. පුතාලා දන්නවා ද, අතීතයේ අපේ කිතුනු සභාව තුළත් කිසි ම හිඟකමක් තිබුණේ නැහැ. එයට හේතුව තමයි ඔවුන් ළඟ තිබුණු බෙදා ගැනීමේ ගුණාංගය.

අප සතු දේ බෙදා ගැනීමේ අවශ්‍යතාව ඉහත සංවාදයට අනුව ඔබට වැටහෙන්නට ඇති. පෙන්තකොස්ත දින ශුද්ධාත්ම ආගමනයෙන් පසු ශුද්ධ වූ සභාවේ සංඛ්‍යාව වර්ධනය විය. එසේ මුල් කිතුනු සභාව තුළ ඔවුන් සතු දේ බෙදාගත් ආකාරය ශුද්ධ බයිබලයේ ක්‍රියා පොතේ 2 : 42 -47 දක්වා මෙසේ විස්තර කර ඇත.

- ★ ඇදහිලිවන්තයෝ සියලු දෙනා එක්ව හැම දෙයක් ම පොදුවේ තබා ගත්හ.

- ★ ඔවුන් තම තමාගේ ඉඩකඩම් හා දේපළ විකුණා එකිනෙකාගේ වුවමනාවේ හැටියට සියලු දෙනා අතර බෙදා ගත්හ.

- ★ දිනපතා දේව මාලිගාවේ රැස් වෙමින් ද ගෙයින් ගෙට ගොස් රොටි කඩමින් ද ප්‍රීතියෙන් හා ත්‍යාග සිතින් ආහාර බෙදා ගත්හ.

එම ආදර්ශයට අනුව කුඩා දරුවකු ලෙස ඔබට අන් අය සමග බෙදා ගත හැකි දේ විමසා බලමු.



ඔබ සතු ආහාරපාන, ඇඳුම්පැළඳුම් පොත්පත්, පාසල් උපකරණ අන් අය සමග බෙදා ගැනීම



ඔබ සතු හැකියා, දක්ෂතා හා දැනුම අන් අය සමග බෙදා ගැනීම



කාර්යබහුල සමාජයක් තුළ අප සතු වටිනා කාලය අන් අයගේ අවශ්‍යතා වෙනුවෙන් කැප කිරීම



අන් අයගේ ජයග්‍රහණවල සතුට බෙදා ගැනීම



අන් අය පරාජය වූ විට ඔවුන්ගේ එම වේදනාව බෙදා ගැනීම

**මුල් කිතුනු සභාවේ ආදර්ශය අනුගමනය කරමින් අප සමග ජීවත් වන අන් අයගේ අවශ්‍යතා ඉටු කිරීමට පුංචි අපිත් යොමු වෙමු.**



**කටපාඩම් පදය**

ඇදහිලිවතුන් සියල්ලෝ එක් වී සැම දෙය ම පොදුවේ තබා ගත්හ. ඔවුහු තමන්ගේ ඉඩකඩම් හා දේපළ විකුණා එකිනෙකාගේ වුවමනාවේ හැටියට සියලු දෙනා අතර බෙදා ගත්හ.

(ක්‍රියා 2 : 44 - 45 )



**පැවරුම**

1. මුල් කිතුනු සභාව අන් අයගේ අවශ්‍යතා ඉටු කළේ කෙසේ ද?
2. කිතුනු දරුවකු වශයෙන් ඔබට අන් අය සමග බෙදා ගත හැකි දේවල් **හතරක්** ලියන්න.

# 20 කුණාටුව නිශ්චල කිරීම

**ශු. මාක් 4 : 35 - 41**



20.1 රූපය - ජේසුස් වහන්සේ කුණාටුව නිශ්චල කිරීම

දෙවියන් වහන්සේ අපට ලබා දුන් ලෝකයේ අවට පරිසරය තුළ කෙතරම් සුන්දර දසුන් දක්නට ලැබේ ද? මේ අතරින් මුහුදු වෙරළ ඉතා චමත්කාර දසුනකි. එසේ ම ජේසුස් වහන්සේගේ සේවයේ දී සුවිශේෂී ස්ථානයක් ලෙස ගලීල මුහුද අපට පෙන්වා දිය හැකි ය.

ජේසුස් වහන්සේ ජනතාවට දේශනා කිරීම සඳහා මුහුදු වෙරළ යොදා ගත් සේක. උන්වහන්සේගේ ගෝලයන් මුහුණ දුන් අපූරු අත්දැකීමක් ශුද්ධ වූ මාක් ශුභාරංචියේ 4 : 35 - 41 සඳහන්ව තිබේ.

එක්තරා දිනක ජේසුස් වහන්සේ ඔරුවක නැඟී මුහුදු වෙරළේ දී දේශනා කළ සේක. සවස් වූ බැවින් එතුමා තම දේශනාව නිම කොට එම ඔරුවේ ම සිට තම ශ්‍රාවකයන්ට මෙසේ පැවසූ සේක.

**ජේසුස් වහන්සේ** : සමූහයා පිටත්කර යවා අපි මුහුදින් එගොඩට යමු.

**පළමුවන ශ්‍රාවකයා** : එහෙමයි ස්වාමීනි, අපි මේ ඔරුවෙන් ම එගොඩට යමු.

(සමූහයා පිටත්කර යැවූ ශ්‍රාවකයෝ ඔරුවේ අවරයෙහි මෙත්තය මත නිදා සිටි ජේසුස් වහන්සේ සමග ඔරුව මුහුදට දියත් කළෝ ය.)

**දෙවන ශ්‍රාවකයා** : අර බලන්න, අහස! විශාල කුණාටුවක් නේද එන්නේ?

**තෙවන ශ්‍රාවකයා** : ඔව්, ඔව්. ඔරුව පිරී යන තරමට රළ පහර සැරයි නේද?

**පළමුවන ශ්‍රාවකයා** : බලාගෙන ඉන්න බැහැ. අපි ස්වාමීන් වහන්සේ අවදි කරමු.

(බියට පත් ශ්‍රාවකයෝ නිදා සිටි ජේසුස් වහන්සේ අවදි කරමින් මෙසේ පැවසූහ.)

**ශ්‍රාවකයෝ** : ගුරු දේවයනි, අප විනාශ වන්නට ළඟයි. අපට උදවු කරන්න.

(නින්දෙන් අවදි වූ ජේසුස් වහන්සේ සුළඟට හා මුහුදට තර්ජනය කර මෙසේ අණ කළ සේක.)

**ජේසුස් වහන්සේ** : "නිශ්ශබ්ද වෙව! නිශ්චල වෙව!"

(එවිට කුණාටුව නිශ්චල විය. කුණාටුව නිශ්චල කළ ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන්ට මෙසේ පැවසූ සේක.)

**ජේසුස් වහන්සේ** : ඔබ ඔය තරම් බිය වන්නේ මන්ද? තව ම ඔබට ඇදහිල්ල නැද්ද?

**භීතියට පත් ශ්‍රාවකයෝ** : මේ කවරෙක් ද? මේ, සුළඟ හා මුහුද පවා උන්වහන්සේට කීකරු වන්නේ ය. හරි පුදුමයි නේද?

එදා ගෝලයන් සමග ජේසුස් වහන්සේ සිටිය ද ඔවුන් තුළ ඇදහිල්ලක් නොතිබූ නිසා ඔවුහු බියට පත්වූහ. එහෙත් ජේසුස් වහන්සේ මුහුද නිශ්චල කිරීමෙන් පසු ඔවුන්ගේ බිය දුරු විය.

අපගේ ජීවිත ගමනේ දී ද විවිධ ගැටලුවලට මුහුණ දීමට අපට සිදු වේ. එවැනි අවස්ථාවල දී දෙවියන් වහන්සේ අප සමග සැම විට ම සිටින බවට අප තුළ විශ්වාසයක් තිබිය යුතු ය.

**දෙවිඳුන් කෙරෙහි විශ්වාසය තබමු!**
**ජීවිතයට පැමිණෙන අභියෝග ජය ගනිමු!**



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, කුඩා අපගේ ජීවිතවලට පැමිණෙන විවිධ අභියෝග හමුවේ අප ළඟ සිටිමින් එම අභියෝග ජය ගැනීමට මඟපෙන්වීම ලබා දුන මැනව.**

**ආමෙන්.**



**පැවරුම**

1. ජේසුස් වහන්සේ චණ්ඩ මාරුතය දමනය කිරීමේ සිද්ධිය පන්ති කාමරය තුළ රඟ දක්වන්න.
2. මෙම රුවල අභ්‍යාස පොතේ පිටපත් කරගෙන ඔබගේ ජීවිතයට පැමිණෙන විවිධ අභියෝග කිහිපයක් එහි ලියන්න.



# 21 දෙවිඳුගෙන් සුවය

ශු. ජොහන් 5 : 1 - 15

පස්වන ශ්‍රේණියේ ඉගෙනුම ලබන නෙත්සර සැම දෙනාගේ ම සිත දිනාගත් යහපත් දරුවෙකි. ඔහුගේ පාදයේ ඇති වූ ආබාධයක් නිසා ඔහුට ඇවිදීමට පවා අපහසු විය. ඔහු මහත් පීඩාවට පත් විය. ඔහුගේ දෙමවුපියන් ඔහුට නොයෙකුත් ප්‍රතිකාර කළ ද එම තත්ත්වය සුව නොවුණි. ඔහුට ප්‍රතිකාර කළ වෛද්‍යවරයා කියා සිටියේ නෙත්සර ශල්‍යකර්මයකට භාජනය කළ යුතු බවයි. එම නිසා ඔහුගේ පවුලේ සාමාජිකයෝ ඔහුට සුවය ඉල්ලා දෙවියන් වහන්සේට යාච්ඤා කළෝ ය.

ඉන් පසු දිනක වෛද්‍ය සායනයට සහභාගි වූ නෙත්සරට වෛද්‍යවරුන් කියා සිටියේ ඔහුගේ රෝගී තත්ත්වය සුව අතට හැරී ඇති බවත් එම නිසා ශල්‍යකර්මය සිදු කිරීම අවශ්‍ය නොවන බවත් ය. නෙත්සරට එසේ සුවය ලැබීම වෛද්‍යවරුන්ට පවා ගැටලුවක් විය. එහෙත් නෙත්සරගේ පවුලේ සියලු දෙනාගේ ම විශ්වාසය වූයේ දිව්‍ය වෛද්‍යවරයාණන් වූ දෙවියන් වහන්සේ ඔහු සුවපත් කළ බවයි.

ජේසුස් වහන්සේ තම ජීවිත කාලය තුළ දී බොහෝ රෝගීන් සුවකළ අවස්ථා ශුද්ධ බයිබලයේ සඳහන් වේ.

උන්වහන්සේගේ මැදහත්කම තුළින් වසර තිස් අටක පමණ කාලයක් රෝගීව සිට සුවය බලාපොරොත්තු වූ පුද්ගලයකු සුවපත් වූ ආකාරය විමසා බලමු.

පහත සඳහන් ක්‍රියාකාරකම ඔබගේ පොතේ පිටපත් කර ශුද්ධ ජොහන් ශුභාරංචියේ 5 : 1 - 17 පාඨ ඇසුරෙන් හිස්තැන් පුරවන්න.

| | | |
|---|---|---|
| නගරය | → | ජේසුස් වහන්සේ ජුදෙව්වරුන්ගේ මංගල්‍යයක් සැමරීම සඳහා .................... නුවරට පැමිණි සේක. (ශු. ජොහන් 5 : 1) |
| සෙනග රැස් වූ ස්ථානය | → | .................. පොකුණක් විය. ඒ වටා ද්වාර මණ්ඩප .................... විය. (ශු. ජොහන් 5 : 2) |
| රැස් වූ පිරිසට අයත් රෝගීන් | → | ඒවායෙහි ................ වූ ද .................. වූ ද .................... වූ ද රෝගීහු සමූහයක් රැස් වූහ. (ශු. ජොහන් 5 : 3) |
| සෙනග රැස්වීමේ අරමුණ | → | ඔවුන් සමිඳාණන්ගේ දූතයකු පැමිණ වතුර කළඹන තෙක් බලා සිටියේ .................. අපේක්ෂාවෙනි. (ශු. ජොහන් 5 : 4) |
| අවධානය යොමු වූ පුද්ගලයා | → | ...................... අවුරුද්දක් රෝගී වූ පුද්ගලයකු කෙරෙහි ජේසුස් වහන්සේගේ අවධානය යොමු විය. (ශු. ජොහන් 5 : 5) |
| ජේසුස් වහන්සේ ඔහුගෙන් ඇසූ ප්‍රශ්නය | → | ................................................................ දැයි ඔහුගෙන් ඇසූ සේක. (ශු. ජොහන් 5 : 6) |
| රෝගියාගේ පිළිතුර | → | ස්වාමීනි, ............................ විට මා පොකුණට ............................ කිසිවෙකු නැත. (ශු. ජොහන් 5 : 7) |
| ජේසුස් වහන්සේ රෝගියාට පැවසූ වදන් | → | ජේසුස් වහන්සේ ............................ පැදුර ........................... යන්නැයි වදාළ සේක. ඔහු සුව වී සිය .................... රැගෙන යන්නට ගියේ ය. (ශු. ජොහන් 5 : 8) |



21.1 රූපය - බෙතෙස්දා පොකුණ අසල සිටි රෝගියාට සුවය දානය කිරීම

තිස් අට අවුරුද්දක් රෝගීව, කිසිවකුගේ උපකාරයක් නොලැබ බෙතෙස්දා පොකුණ අසල සිටි රෝගියාට අනුකම්පා කොට ජේසුස් වහන්සේ ඔහුට සුවය ලබා දුන් සේක. ඒ නිසා සැම මොහොතක ම දිව්‍ය වෛද්‍යවරයාණන් වන දෙව් පියාණන් වහන්සේ කෙරෙහි විශ්වාසය තැබීම වැදගත් වේ.

**ජේසුස් වහන්සේගෙන් සුවය ලබමු;**
**ලැබූ සුවය ගැන සාක්ෂි දරමු!**



**කටපාඩම් පදය**

නැඟිට ඔබේ පැදුර රැගෙන යන්නැයි ජේසුස් වහන්සේ ඔහුට වදාළ සේක.

(ශු. ජොහන් 5 : 8)



## පැවරුම

කණ්ඩායම් 4කට බෙදී පහත සඳහන් අවස්ථා ශුද්ධ බයිබලයෙන් සොයා පන්තියට ඉදිරිපත් කරන්න.

**A**

අංශභාග රෝගියාට සුවය

ශු. ලූක් 5 : 17 - 26

**B**

ලාදුරු රෝගියකු සුව කිරීම

ශු. ලූක් 5 : 12 - 16

**C**

මීමැස්මොර රෝගි ළමයකුට සුවය

ශු. ලූක් 9 : 37 - 43

**D**

පේදුරුගේ නැන්දණියට සුවය

ශු. ලූක් 4 : 38 - 41

# 22 මරණය කෙරෙහි දේව බලය

ශු. මාක් 5 : 21 - 24 , 35 - 43

ජේසුස් වහන්සේ මරණය අභිබවා ක්‍රියා කළ අන්දම ශුද්ධ බයිබලයේ සඳහන් වේ. ඉන් එක් අවස්ථාවක් වන්නේ යායිරස්ගේ දියණිය මළවුන්ගෙන් නැඟිටුවීමේ සිද්ධියයි.

මරණාසන්නව සිටි තම දියණියගේ සුවය පතා ජේසුස් වහන්සේ වෙත පැමිණි යායිරස් නැමැති පුද්ගලයෙක් විය. ඔහු ධර්මශාලාවේ ප්‍රධානියෙකි. ඔහු තම දියණිය මරණාසන්නව සිටිය දී මුහුදු වෙරළේ දේශනා කරමින් සිටි ජේසුස් වහන්සේ සොයා පැමිණියේ ය. ඔහු ජේසුස් වහන්සේගේ පාමුල වැඳ වැටී මෙලෙස ඉල්ලා සිටියේ ය.




දියණිය මිය ගියා. ස්වාමීන් වහන්සේ වෙහෙසට පත් නොකරන්න.
බිය නොවන්න ඇදහිල්ල ඇතිව සිටින්න.


නුඹලා හඬන්නේ ඇයි? ඇය මැරී නැත. ඇය නිදා සිටින්නී ය.







මේ ආකාරයට ජේසුස් වහන්සේ යායිරස්ගේ දියණිය මළවුන්ගෙන් නැගිටවූ සේක.

මෙම සිදුවීමට අනුව යායිරස්ගේ චරිතයෙන් ඔබේ ජීවිතයට ලැබෙන ආදර්ශ මොනවා දැයි විමසා බලමු.

★ විශ්වාසයෙන් යුතුව ජේසුස් වහන්සේ සොයා ළඟට ම පැමිණීම

★ නිහතමානී වීම

★ ජේසුස් වහන්සේගේ පාද පාමුල වැඳ වැටීම

★ උපරිම උත්සාහය ගැනීම

★ ස්ථිර විශ්වාසයෙන් සිටීම

★ ජේසුස් වහන්සේගේ වචනයට කීකරු වීම

යායිරස්ට තම දියණිය සුව කර ගැනීමට හැකි වූයේ ඔහු ජේසුස් වහන්සේ කෙරෙහි තැබූ විශ්වාසය නිසා ය. එසේ ම ඔබ ද ඔබගේ ජීවිතයේ නොයෙකුත් කටුක අත් දැකීම් හමුවේ යායිරස් මෙන් ඇදහිල්ලෙන් ක්‍රියා කිරීමට උත්සාහ කරන්න. එවිට ඔබට දෙවියන් වහන්සේගේ සහනය හිමිවනු ඇත.

**යායිරස් මෙන් අප ද දෙව්පියා කෙරෙහි ඇදහිල්ලෙන් සිට ජය ලබමු!**



**යාච්ඤාව**

ආදර දෙව් පියාණෙනි, එදිනෙදා ජීවිතයේ මුහුණ දීමට සිදු වන විවිධ පීඩාවන්හි දී යායිරස් මෙන් ඇදහිල්ලෙන් ක්‍රියා කිරීමට අවශ්‍ය ධෛර්යය හා ශක්තිය දුන මැනව.

ආමෙන්.



**පැවරුම**

නිවැරදි පිළිතුර තෝරන්න.

1 යායිරස් යනු ධර්මශාලාවේ (ප්‍රධානියෙකි / ලාදුරු රෝගියෙකි)

2. ජේසුස් වහන්සේ සොයා යායිරස් (දේව මාලිගාවට / මුහුදු වෙරළට) ගියේ ය.

3. ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ පරිදි ඇ (නිදා සිටියා ය / වෙහෙස වී) සිටියා ය.

4. මරණාසන්නව සිටි යායිරස්ගේ දියණියට ජේසුස් වහන්සේ නැවත ජීවිතය (ලබා දුන් සේක / ලබා නොදුන් සේක)

5. දැරියට (කෑමට / ඇවිදීමට) යමක් දෙන්නැයි ජේසුස් වහන්සේ කී සේක.

# 23 පුරාණ ගිවිසුම

ශුද්ධ බයිබලය යනු දේව වචනය අඩංගු පූජනීය ග්‍රන්ථයයි. එය ප්‍රධාන කොටස් දෙකකට බෙදේ.




ඊශ්‍රායෙල් ජනතාවගේ ඉතිහාසයට අයත් සිදුවීම් පුරාණ ගිවිසුමෙහි සඳහන් වේ. පුරාණ ගිවිසුමට අයත් පොත් මොනවා දැයි පහත සඳහන් විරිදුව ඇසුරෙන් විමසා බලමු.

1. දෙවි සමිඳුන් සරණ ලබන - බලය ලබන අපි සැම දෙන
   පුරාණ ගිවිසුමට අයත් - පොත් සියල්ල හඳුන ගනිමු //

2. උත්පත්තිය, නික්මයාම - ලෙවී, ගණන්, ද්විතීය කථා
   බයිබලයේ මුල් පොත් පහ - පංච පුස්තකය නම් වෙයි //

3. යහගුණ පිරි ජෝෂුවා පොත - වීරාවලිය, රූත් කථා
   සාමුවෙල්ගේ පොත් දෙකක් ය - රාජාවලිය, පොත් දෙකක් ය //

4. වංශාවලිය යුගල පොත් ද - එස්රා, නෙහෙමියා තුමා
   එස්තර් යන දිරිය රැජින - පීඩා මැද ජෝබ් තුමා //

5. ගීතාවලිය, හිතෝපදේශ - ධර්මදේශකයාගේ පොත
ප්‍රේම ගීත මේ හැම පොත් - මන පිනවයි හද සනසයි //

6 දෙවි වදනින් බල ගැන්වුණ - දිවැසිවරුන්හට කන් දෙමු
යෙසායා, ජෙරමියා තුමා - විලාප ගී, එසකියෙල් ද //

7 දානියෙල් ද හොසියා තුමා - ජෝවෙල් පොත, ආමොස් පොත
ඔබදියා, ජෝනා, මීකා - නාහුම්, හබකුක්, ශෙපනියා //

8 හග්ගයි, සෙකරියා, මලාකි - අවසන් පොත් අතරට විත්
පැරණි ගිවිසුමේ ඇති පොත් - තිස් නවයයි බයිබලයේ //

පුරාණ ගිවිසුම අපට වැදගත් වන්නේ ඇයි?

- ★ ඉශ්‍රායෙල්වරුන් සමග දෙවියන් වහන්සේ ක්‍රියා කළ ආකාරය පිළිබඳ තොරතුරු ඇතුළත් වීම නිසා
- ★ මුල් කිතුනු සභාව නමස්කාරයේ දී එය භාවිත කළ නිසා
- ★ ක්‍රිස්තුන් වහන්සේගේ පැමිණීම පිළිබඳ දිවැස්වැකි සඳහන් වන නිසා
- ★ දෙවියන් වහන්සේ ඒ තුළින් අපට ද කතා කරන නිසා

**බයිබලය කියවමු; දේව වචනයට ගෞරව දක්වමු. ඒ අනුව ජීවත් වෙමු.**



**කටපාඩම් පදය**

ඔබේ වචන
මාගේ දෙපයට පහනක් ය;
මාගේ මාවතට එළියක් ය.
(ගීතාවලිය 119 : 105)



## පැවරුම

පහත සඳහන් ප්‍රහේලිකාව සම්පූර්ණ කරන්න.

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| 1 උ | | 5 දා | 2 නි | | ල් | |
| | | | | | | 3 ති |
| | | | | | | |
| | | | | | | |
| ති | | | ම | | | ව |
| | | | | | | |
| 4 ගී | | ව | | ය | | යි |
| | | | | | | |

පහළට

1. ශුද්ධ බයිබලයේ පළමු පොත ය.
2. ඉශ්‍රායෙල්වරුන් වහල් බවින් නිදහස් වීම පිළිබඳ සඳහන් පොත ය.
3. පුරාණ ගිවිසුමට අයත් පොත් ගණන අකුරෙන්

හරහට

4. දාවිත් රජුගේ ගීත ඇතුළත් පොත
5. සිංහ ගුහාවේ සිටි ඇදහිලිවන්තයකුගේ තොරතුරු ඇතුළත් පොත

# 24 සමිඳාණෝ මගේ එඬේරාණෝ ය

## ගීතාවලිය 23

දාවිත් රජු ළමා කාලයේ එඬේරෙකු ලෙස ලැබූ අත්දැකීම් ගීතාවලිය 23 හි සඳහන් වේ. එම ගීතයට අනුව දාවිත් රජු තම යහපත් එඬේරාණන් ලෙස දෙවියන් වහන්සේ හඳුන්වා දී ඇත.

සමිඳාණෝ මා එඬේරාණෝ ය;
අග හිඟ මට නොවන්නේ ය.
එතුමාණෝ
නිල් තණ බිම් මත මා සතප්වා,
නිසල දිය වෙත පමුණුවා,
මා පණගන්වන සේක.
සිය නාමයේ මහිමය සැලසෙන ලෙස
දමිටු මඟ මා ගෙන යන සේක.
මරණය වැනි ගනඳුරු
රුදුරු නිම්නය මැදින් ගියත්,
ඔබ මා සමඟ බැවින්,
මට කිසි බියක් නොවන්නේ ය.
ඔබේ සෙවිට ද සැරයටිය ද
මා නියත සැනසිල්ල වන්නේ ය.
ඔබ මාගේ සතුරන් ඉදිරියේ දී,
මංගල බොජුනක් පිළියෙල කර දී,
මා සිරස තෙලින්
ආලේප කරන සේක.
මාගේ කුසලාන උතුරා යන්නේ ය.
ඔබේ දයාව හා කරුණාව
නියත ව, දිවිහිමියෙන්
මා අනුව එන්නේ ය.
සමිඳුන්ගේ නිවාසය
මාගේ සදාතන වාසය වන්නේ ය.

ගීතාවලිය 23

ගීතාවලිය 23 වන පරිච්ඡේදයේ යහපත් එඬේරාණන් වන දෙවියන් වහන්සේ ගැන සඳහන් වේ. ඒ අනුව යහපත් එඬේරකු සතු ගුණාංග මෙසේ ය;

**යහපත් බැටළු එඬේරා**

- තම බැටළුවන්ට නිවැරදි මඟ පෙන්වයි
- තම බැටළුවන් පෝෂණය කරයි
- තම රැළ උදෙසා දිවි පුදයි
- තුවාල වූ බැටළුවන්ට කරුණාව දක්වයි
- දිවි පරදුවට තබා තම බැටළුවන් සතුරාගෙන් රැක ගනියි

ජේසුස් වහන්සේ අප වෙත පැමිණ යහපත් එඬේරෙකු ලෙස ක්‍රියා කළ ආකාරය නව ගිවිසුමේ දී අපි දකිමු. පහත දක්වෙන ගීතය ඇසුරෙන් ද එය පැහැදිලි වේ. (කිතුනු ගීතිකා පොතේ 133 වන ගීතිකාව)


24.1 රූපය - යායිරස්ගේ දියණිය සුව කිරීම

**යහපත් පෙමැති ජේසු තුමා**
**එඬේරා මා එඬේරා මා**

**පීඩා දුක රෝගාතුර වූ කල් පෙමින්**
**ළං වී අනුකම්පාවෙන් ළයේ එතුමන්**
**දරමින් නිති රකී මෙමා**


24.2 රූපය - පන්දාහසකට කෑම දීම

**ලග්ගා නිල් තණ බිම් ඇති තැන්හි යසා**
**පෑදි දිය ගංගා දෙස් ගෙන යයි තොසා**
**හිඟකම නැත ඒ නිසා**



24.3 රූපය - කුණාටුව නිශ්චල කිරීම

බීතා නොවී යම් මරුගේ සෙවණේ
අනතුරු රුදු තැන් වේ ඒ මාර්ගේ නිතිනේ
පෙමින් මා ගෙන යයි සොඳිනේ



24.4 රූපය - ළදරුවන්ට ප්‍රේම කරන ජේසුස් වහන්සේ

වාසේ වෙමි මාලිගාවේ නිත් එතුමන්
බෝ සේ පිරි සම්පත් නෙක් ලබමි තොසින්
සව්කල් වසමි හිමි සමගින්

අපගේ යහපත් එඬේරාණන් සේ ජේසුස් වහන්සේ ප්‍රේමයෙන් ක්‍රියා කළ සේක.

**උන්වහන්සේගේ කීකරු බැටළුවන් ලෙස අපි එතුමා පෙන්වා දුන් මාර්ගයෙහි ගමන් කරමු.**



### යාච්ඤාව

**ප්‍රේමණීය දෙවි පියාණන් වහන්ස, අපගේ යහපත් බැටළු එඬේරාණන් වන ජේසුස් වහන්සේ කෙරෙහි විශ්වාසය තබමින් එතුමා අපට පෙන්වා දුන් මාර්ගයෙහි ගමන් කිරීමට අවශ්‍ය ශක්තිය හා ධෛර්යය දුන මැනව.**

**ආමෙන්.**



### පැවරුම

(1) ගීතාවලිය 23 වන පරිච්ඡේදය ඇසුරෙන් හිස්තැන් පුරවන්න.

සමිඳාණෝ මා ............................ අගහිඟ මට නොවන්නේ ය. එතුමාණෝ ................................ මත මා සතපවා ........................ ........................ වෙත පමුණුවා මා ......................................සේක.

(2) යහපත් එඬේරෙකු සතු ලක්ෂණ හතරක් ලියන්න.

10.1 , 13.1 , 14.1 , 15.1 , 18.1 , 20.1 , 21.1 යන රූප සටහන් අන්තර්ජාලය ඇසුරින් ලබා ගන්නා ලදී.